# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජයභූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජයභූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

**ආනන්ද සමරකෝන්**

# පෙරවදන

දියුණුවේ හිණිපෙත කරා ගමන් කරනා වත්මන් ලොවට, නිතැතින්ම අවැසි වනුයේ වඩාත් නව්‍ය වූ අධ්‍යාපන ක්‍රමයකි. එමඟින් නිර්මාණය කළ යුත්තේ මනුගුණදම් සපිරුණු හා කුසලතාවලින් යුක්ත දරුපරපුරකි. එකී උත්තුංග මෙහෙවරට ජව බලය සපයමින්, විශ්වීය අභියෝග සඳහා දිරියෙන් මුහුණ දිය හැකි සිසු පරපුරක් නිර්මාණය කිරීම සඳහා සහාය වීම අපගේ පරම වගකීම වන්නේ ය. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යය වෙනුවෙන් සක්‍රීය ලෙස මැදිහත් වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ වෙනුවෙන් දායකත්වය ලබා දෙන්නේ ජාතියේ දරුදැරියන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොත විටෙක දැනුම් කෝෂ්ඨාගාරයකි. එය තවත් විටෙක අප වින්දනාත්මක ලොවකට ද කැඳවාගෙන යයි. එසේම මේ පෙළපොත් අපගේ තර්ක බුද්ධිය වඩවාලන්නේ අනේකවිධ කුසලතා පුබුදු කරවාගන්නට ද සුවිසල් එළි දහරක් වෙමිනි. විදුබිමෙන් සමුගත් දිනක වුව අපරිමිත ආදරයෙන් ස්මරණය කළ හැකි මතක, පෙළපොත් පිටු අතර දැවටී ඔබ සමඟින් අත්වැල් බැඳ එනු නොඅනුමාන ය. මේ පෙළපොත සමගම තව තවත් දැනුම් අවකාශ පිරි ඉසව් වෙත නිති පියමනිමින් පරිපූර්ණත්වය අත් කරගැනුමට ඔබ සැම නිරතුරුව ඇප කැප විය යුතු ය.

නිදහස් අධ්‍යාපනයේ මහානර්ඝ ත්‍යාගයක් සේ මේ පුස්තකය ඔබ දෝතට පිරිනැමේ. පෙළපොත් වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අර්ථසම්පන්න අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පාඨ්‍ය ග්‍රන්ථය මනාව පරිශීලනය කරමින් නැණ ගුණ පිරි පුරවැසියන් වී අනාගත ලොව ඒකාලෝක කරන්නට දැයේ සියලු දූ දරුවන් වෙත දිරිය සවිය ලැබේවායි හදවතින් සුබ පතමි.

පෙළපොත් සම්පාදන කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ සම්පත්දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ප්‍රණාමය පුදකරමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

**නියාමනය හා අධීක්ෂණය**

පී. එන්. අයිලප්පෙරුම - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**මෙහෙයවීම**

ඩබ්ලිව්.ඒ. නිර්මලා පියසීලි - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සම්බන්ධීකරණය**

ආර්.ඩී. විජේවික්‍රම - නියෝජ්‍ය කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සහාය සම්බන්ධීකරණය**

එස්. ජී. ඩී. එන්. එල්. සමරකෝන් - සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**අනුශාසකත්වය**

වන්දනීය කීර්තිසිරි ප්‍රනාන්දු දේවගැතිතුමා - අනුනායකතුමා (නුවරඑළිය)
ලංකා සභාව

**සංස්කාරක මණ්ඩලය**

ගරු ජේ.ඒ. මිහිරි ද සිල්වා දේවගැතිතුමිය - විධායක ලේකම්, ක්‍රිස්තියානි අධ්‍යාපන කොමිසම, ජාතික ක්‍රිස්තියානි මණ්ඩලය, කොළඹ 7

එම්. හේමචන්ද්‍ර පෙරේරා - සහකාර අධ්‍යාපන අධ්‍යක්ෂ (විශ්‍රාමික)
(ක්‍රිස්තියානි ධර්මය)
අධ්‍යාපන අමාත්‍යාංශය

ගෞ. සී. ඩබ්. සී. බාල්රාජ් දේවගැතිතුමා - විදුහල්පති, ශාන්ත තෝමස් විදුහල, බණ්ඩාරවෙල

**ලේඛක මණ්ඩලය**

එල්. නිලන්ති දීපා ද සිල්වා - ගුරු වෘත්තිය, මෙතොදිස්ත උසස් විදුහල, පුවක් අරඹ, මොරටුව

එම්. රදීකා සමන්ති මෙන්ඩිස් - ගුරු වෘත්තිය, සාන්ත තෝමස් විදුහල, ගල්කිස්ස

නිලූකා චාමිනී උඩුමුල්ල - ගුරු වෘත්තිය, කිංග්ස්වුඩ් විද්‍යාලය, මහනුවර

| | | |
|---|---|---|
| ආර්. එන්. එන්. එස්. කේ. ජයසේන | - | ගුරු වෘත්තිය, කු/ශ්‍රී නිශ්ශංක ම.වි<br>දකුණු රවුම් පාර, කුරුණෑගල |
| ඩී. ග්ලෝරි හෙබ්සිබා | - | ගුරු වෘත්තිය, ගම්පොළ හින්දු විදුහල,<br>ගම්පොළ |
| එම්. පී. සෙල්වනිදි පෙරේරා | - | ගුරු වෘත්තිය, (විශ්‍රාමික) |

**භාෂා සංස්කාරක**

| | | |
|---|---|---|
| රංජිත් ඉලුප්පිටිය | - | නියෝජ්‍ය කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**පරිගණක අක්ෂර සංයෝජනය හා පිටු සැලසුම්කරණය**

එල්. ඒ. සඳුනි නිලංකා පත්මසිරි - අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**පිටකවරය**

එල්. ඒ. සඳුනි නිලංකා පත්මසිරි - අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

# පටුන

පිටු අංකය

# 1 දෙවිඳුන් අබියස දැහැමිකම "නෝවා"

උත්පත්ති 6 : 8-12

පොළෝ වැසි සියල්ලෙනි - හිමි වඳිම් මනසිනි
පේමෙන් මෙහෙ කරමිනි - නඟව් තුති බැතියෙනි

හිමි දෙවිඳු බැව් දනිව් - මැවුම්කරුත් එතුම වෙයි
අප රැළ ලෙස තමන් - සුරකින්නෙත් එහිමි මයි

සොම්නස් සිතින් තුති දෙමින් - දෙව් මැදුරට අවුදින්
නමදිව් හිමි දෙවිඳුන් - ගරු බුහුමන් පුදමින්

දෙවිතුමන් දයා පෙම - සත්‍යතාවකි හැම කල
පහ නොවී එලෙස ම - පවතී ය ලොව තුළ

(ක්‍රි. ගීතිකා පොත 11 ගීතය)

දෙවි පියාණන් වහන්සේ ඉතා මනහර ලෝකයක් නිර්මාණය කර අපට ලබා දුන් බවත් එතුමා අප සුරකින දෙවිතුමාණන් බවත් ඉහත ගීතිකාව ගායනා කරන විට අපට වැටහෙනු ඇත.

දෙවියන් වහන්සේ ඉතා මනහර ලෙස ලෝකය නිර්මාණය කර එය මිනිසාට භාර කළ සේක. මුළු මැවිල්ල තුළ ඉතා උසස් ම නිර්මාණය ලෙස දේව ස්වරූපයෙන් මිනිසා මවනු ලැබූ සේක. තව ද දෙවියන් වහන්සේ මිනිසාට ආසිරි පතමින් දරු සම්පත් ලබා වැඩි වර්ධනය වී පොළොව පුරා පැතිර එය පාලනය කිරීමටත් සියලු සතුන් කෙරෙහි ආධිපත්‍යය පැවැත්වීමටත් පැවරූ සේක. මුළු පොළෝ තලයේ ධාන්‍ය දරන සියලු පැළෑටි ද බීජ සහිත පල දරන සියලු ගස් ද මිනිසාගේ ආහාරය පිණිස ලබා දුන් සේක. මෙලෙස උන්වහන්සේ මිනිසාට මහත් සේ ආශීර්වාද කළ සේක. මුළු මැවිල්ල තුළ මිනිසාට හිමි වූයේ අද්විතීය ස්ථානයකි. එහෙත් මුල් මිනිස් යුවළ පසුකාලීන ව දෙවියන් වහන්සේට විරුද්ධ ව ක්‍රියා කරමින් පාපයට වැටීම හේතු කොටගෙන දේව සබඳතාවෙන් ඈත් විය. මිනිස් සංහතිය කෙමෙන් පාපයේ ගැලෙමින් පිරිහීමට පත් විය.

මෙලෙස පාපයේ ගැලී දෙවියන් වහන්සේගේ සබඳතාවෙන් වෙන් වූ මිනිසුන් අතරේ සිටි දේව සබඳතාව සහිත ව ජීවත් වූ දැහැමි මිනිසෙක් විය. ඔහු වනාහී නෝවා ය. මෙම දැහැමි මිනිසා දෙවියන් වහන්සේගේ ප්‍රේමය අත් දිටී ය. දෙවියන් වහන්සේගේ කරුණාව නෝවා කෙරෙහි විය.

**විමසා බලමු**
**උත්පත්ති 6 : 8 - 12**

මේ අනුව නැවක් සෑදීමට දෙවියන් වහන්සේගෙන් නෝවාට අණක් ලැබිණි. නෝවා එම අණට යටත් විය, කීකරු විය. අනතුරුව නෝවා තම භාර්යාව, ෂෙම්, හාම්, ජාපෙත් යන දරුවන් තිදෙනා, ඔවුන්ගේ භාර්යාවන් ද සියලු ම වර්ගයේ සතුන් ආදියත් සමග ආරක්ෂා සහිත ව නැවට ඇතුළු විය. එසේ නෝවා ඇතුළු පවුලේ සැම ඒ මහා ජලගැල්මෙන් ආරක්ෂා වීම පිළිබඳ පුවත අප ළමා අවධියේ සිට ම අසා ඇත්තෙමු.

නෝවා පිළිබඳ ව දේව වචනයේ මෙලෙස සඳහන් වේ.

නෝවා
- සත් ගුණවත් මිනිසකු ලෙස පිළිගනු ලැබී ය
- පරම්පරාවේ නිදොස් මිනිසා ලෙස හැඳින්විණි
- දෙවියන් වහන්සේ සමග සුහදතාවෙන් හැසිරුණේ ය
- දෙවියන් වහන්සේ අබිමුවෙහි කරුණාව ලැබී ය

## නෝවා සත් ගුණවත් මිනිසකු වීම

නිරන්තරයෙන් නපුරු සිතුවිල්ලෙන් කල් ගෙවන ලද දුෂ්ට වූත් සැහැසි වූත් ජනතාවක් අතර ජීවත් වූ නෝවා දෙවියන් වහන්සේ ඉදිරියෙහි පිළිගත හැකි වූත්, යහපත් වූත් ජීවන රටාවක් අනුගමනය කරමින් තම ජීවිත පැවැත්ම දෙවියන් වහන්සේ ඉදිරියෙහි ප්‍රසන්න ලෙස ගත කළේ ය. එබැවින් නෝවා සත් ගුණවත් මිනිසෙකු ලෙස දෙවියන් වහන්සේ විසින් පිළිගනු ලැබූ සේක.

ඔබත් සත් ගුණවත් දරුවකු ලෙස මිනිස් සමාජය තුළ ජීවත් වීම දෙවියන් වහන්සේගේ අපේක්ෂාව වේ. බෙහෙවින් ම ලෝකයේ පැවැත්ම අයහපත් වුවත් එවන් අවස්ථාවල දී අයහපත පිටු දක යහපත තෝරාගෙන කටයුතු කිරීම ඔබගෙන් බලාපොරොත්තු වේ. එසේ ක්‍රියා කිරීමේ දී ලෝකයාගෙන් ප්‍රතික්ෂේප වුවත් දෙවියන් වහන්සේ ඉදිරියේ ප්‍රසන්න වූ දේ ඉටු කිරීම ඔබගේ වගකීම වේ. අයහපත් සමාජයක් තුළ යහ පැවැත්මෙන් ජීවත් වීමට උත්සාහ දැරීම අසීරු, අපහසු කාර්යයක් වුවත්, දේව වචනයට අනුකූල ව ජීවත් වීමත්, සමාජයේ දී එකිනෙකා සමානාත්මතාවෙන් යුතු ව පිළිගෙන සුහදතාවෙන් ජීවත් වීමත් ඔබගෙන් අපේක්ෂා කෙරේ. එසේ නිවැරැදිවූත් දෙවියන් වහන්සේට ප්‍රසන්න වූත් ජීවිත රටාවක් අනුගමනය කිරීමෙන් උන්වහන්සේ ඉදිරියේ සත් ගුණවත් දරුවකු වීමට ඔබට ද හැකි වනු ඇත.

## නෝවා නිදොස් මිනිසකු වීම

දොස් සහිත සමාජයක නිදොස් ව ජීවත් වීමේ අභියෝගය නෝවා ඉදිරියේ විය. දෙවියන් වහන්සේ සමග තිබූ යහපත් සබඳතාව, නිවැරැදි පැවැත්මකට යොමු වීමට ඔහුට උපකාර විය. දේව මඟ පෙන්වීම තුළ නිවැරැදි දේ තෝරා බේරාගෙන කටයුතු කිරීමට ඔහුට හැකියාව තිබුණි. දෙවියන් වහන්සේ නෝවා ගැන විමසා බලා ඔහු නිදොස් කෙනෙකු බව පිළිගත් සේක. නෝවාගේ පරම්පරාවේ නිදොස් මිනිසා ලෙස දෙවියන් වහන්සේ ඉදිරියේ පිළිගැනීමට ලක්වීමට තරම් නෝවා ආශීර්වාද ලත් කෙනෙක් විය. එසේ වුයේ ඔහුගේ ජීවිත පැවැත්ම තුළ දේව කැමැත්ත පමණක් ඉටු කිරීම නිසා ය.

> දොස් සහිත සමාජය තුළ නිදොස් ලෙස ජීවත් වීමේ අභියෝගයට ඔබට ද මුහුණ දීමට සිදු වනු ඇත. ධනය, බලය, කීර්තිය පසුපස හඹා යන සමාජයක දේව වචනය පිළිපදිමින් ජීවත් වීම බෙහෙවින් අසීරු කාර්යයකි. එහෙත් ඒ අසීරු කාර්යය ඉටු කරතැයි දෙවියන් වහන්සේ අප කෙරෙහි ද විමසිලිමත් ව බලා සිටින සේක. දෙවියන් වහන්සේ අප දෙස බලා සිටිනවා මෙන් ම නිදොස් වන කල අපට ද මහත් වටිනා කමක්, අගය කිරීමක් ලබා දෙන සේක.

## නෝවා දෙවියන් වහන්සේ සමග සුහදතාවෙන් කටයුතු කිරීම

නෝවා දෙවියන් වහන්සේ සමග ද සුහදතාවෙන් හැසිරුණු බව දේව වචනයේ ප්‍රකාශ වේ. මිනිසෙකුට දෙවියන් වහන්සේ සමග සුහදතාවෙන් හැසිරීමට හැකි වීම ජීවිතයේ ලබන විරළ මෙන් ම මහඟු අත්දැකීමකි. දෙවියන් වහන්සේ ශුද්ධ වූ දෙවිඳාණෝ ය. මිනිස් ලෝකය තුළ අයහපත රජයයි. නෝවා විසූ සමාජ පරිසරය ද එසේ ම විය; අතිශයින් දරුණු විය. ඒ සියල්ල මැද ලෝක සම්මත දේට වඩා දෙවියන් වහන්සේ ඉදිරියේ නිවැරැදි දේ තෝරා ගැනීමට නෝවාට හැකි විය. නෝවාගේ දැන් දෙවියන් වහන්සේ වෙත එසවී තිබුණ බව පෙනේ. තව ද නෝවාගේ පැවැත්ම සහමුලින් ම දේව පාලනය යටතේ තිබූ බව ද පැහැදිලි ය. මිනිසෙකුට එවැනි ශුද්ධවන්තකමක් පවත්වා ගැනීම අසීරු නමුත් නෝවා එම අසීරු මාර්ගයේ ගමන් ගත්තේ ය.

> මිනිසකුට දෙවියන් වහන්සේ සමග සුහදශීලී වීම ඉතා අමාරු කාර්යයකි. එහෙත් නෝවා එම පැවැත්ම සහිත විය. දෙවියන් වහන්සේ සමග සුහදතාවෙන් ජීවත් වීමට නම් සුහදතාවේ ගුණාංග ඔබ සතු විය යුතු වේ. කිතුනු ඔබ පාසලේ දී, නිවසේ දී, සමාජයේ දී එකිනෙකා සමග පවත්වන සබඳතාව ප්‍රේමණීය විය යුතු වේ. නිවැරැදි දේ අගය කිරීමට, පිළිගැනීමට දෙවියන් වහන්සේ ඉදිරියේ ගරු කටයුතු ලෙස හැසිරීමට යොමු විය යුතු වේ. දෙවියන් වහන්සේගේ කැමැත්ත තේරුම් ගෙන එය ඉටුකළ යුතු වේ. අප අන් අය සමග පවත්වන යහපත් සබඳතා තුළින් අප දෙවියන් වහන්සේ සමග ද සුහදතාවෙන් ජීවත් වන බව ප්‍රත්‍යක්ෂ කරයි.

## නෝවා දෙවියන් වහන්සේගේ කරුණාව ලැබීම

දෙවියන් වහන්සේ ඉදිරියේ ධර්මිෂ්ඨ ලෙස ජීවත් වූ නෝවාට දෙවියන් වහන්සේගේ කරුණාව අත්දකින්නට අවස්ථාවක් හිමි විය. නෝවා තුළ දේව දරුවකු තුළ තිබිය යුතු ගුණාංග එනම් කීකරුකම, නිහතමානීකම හා දෙවියන් වහන්සේ කෙරෙහි අචල විශ්වාසය පැවතිණ. දෙවියන් වහන්සේ නෝවාගේ යහපත් ජීවිත පැවැත්ම හා දේව සබඳතාව පිළිබඳ ව ප්‍රසන්න වූ සේක. එබැවින් ඔහුට වගකීමක් පැවරූ සේක. ඔහු නිසා ඔහුගේ පවුලේ මෙන් ම මිනිස් වර්ගයාගේ ද පැවැත්ම අලුත් විය.

දේව දරුකමට ඇතුළත් ඔබ ද දෙවියන් වහන්සේ සමග යහපත් සබඳතාවකින් යුතු ව ජීවත් වීම දේව අභිප්‍රාය වේ. එබැවින් ඔබත් කීකරු ව නිහතමානී ව හා දෙවියන් වහන්සේ කෙරෙහි විශ්වාසවන්ත ව ජීවත් වීම අවශ්‍ය වේ. එසේ දේව විශ්වාසය ඇති ව උන්වහන්සේ සමග සමීප සබඳතාවෙන් යුතු ව යහපත් ලෙස ජීවත් වීමෙන් දෙවියන් වහන්සේගේ කරුණාව ඔබට ද අත්දැකිය හැකි වනු ඇත. එලෙස අයහපතින් පිරි ලොව තුළ යහ පැවැත්මකින් යුතු ව ජීවත් වීමේ අභියෝගය ජය ගැනීම මගින් ලෝකයට මෙහෙවරක් ඉටු කිරීමට ඔබටත් දේව කැඳවීම ලැබෙනු ඇත. දේව වචනයට අනුව දෙවියන් වහන්සේ කැමති යහපත් දේ පාසලේ දී, ගෙදර දී, සමාජයේ දී ඉටු කළ හොත් දෙවියන් වහන්සේ ඉදිරියේ ඔබගේ ක්‍රියාව නිවැරැදි නම් නෝවාට මෙන් ඔබට ද දේව කරුණාව හිමි වනු ඇත.

මෙලෙස ජීවත් වීමෙන් ඔබට ද,

1. සත් ගුණවත් දරුවකු වීමට ද
2. නිදොස් දරුවකු වීමට ද
3. දෙවියන් වහන්සේ සමග සුහදතාවෙන් ජීවත් වීමට ද
4. දෙවියන් වහන්සේගේ කරුණාව ලැබීමට ද හැකියාව ලැබෙනු ඇත.

එමගින් ලෝකය අලුත් කිරීමට ඔබට ද දායක විය හැකි වනු ඇත. නෝවාගේ දැහැමිකම නිසා ඔහු දේව කරුණාව ලැබුවා සේ ඔබගේ දැහැමිකම නිසා ඔබටත්, ඔබ සමග සිටින්නන්ටත් දේව කරුණාව හිමි වනු ඇත. දේව ප්‍රේමය ඔබගේ ජීවිතය තුළ අත්දැකීමටත්, සමාජය දූෂිත බවින් මුදවා ගනිමින් ක්‍රියා කිරීමටත් ඔබට ලැබෙන දේව කැඳවීමේ දී ඊට එකග ව ක්‍රියා කිරීමට ඔබට ද දේව කරුණාව හිමි වනු ඇත.

**ක්‍රියාකාරකම**

1. කිතුනු දරුවකු ලෙස ඔබ දේව කරුණාව ලැබීමට නම් ඔබේ ජීවිතයේ ප්‍රගුණ කළ යුතු යහ ගුණාංග **තුනක්** ලියන්න.

# 2 දෙවිඳුන් අබියස දැහැමිකම "දාවිත්"

1 සාමුවෙල් 24 : 1-22,  2 සාමුවෙල් 9 : 1-13

ප්‍රේමය

දම්වැලක පුරුක් මෙන් ශුද්ධ බයිබලයේ අඛණ්ඩ ව දිවෙන තේමාවකි "ප්‍රේමය." දේව ප්‍රේමය මිනිසා අත්දුටු ආකාරය පැරණි ගිවිසුම හා නව ගිවිසුම අධ්‍යයනය කිරීමෙන් අපට අවබෝධ කර ගත හැකි වේ.

මෙම පාඩමෙන් අප අත්දකින්නට යන්නේ පැරණි ගිවිසුමෙහි සඳහන් වන වෘත්තාන්තයක් ඇසුරින් දෙවියන් වහන්සේ අපේක්ෂා කරන ලෙසට සතුරාට ද ප්‍රේම කරමින් ආදර්ශය දැක්වූ අසමසම චරිතයක් පිළිබඳ ව ය.

**විමසා බලමු**
**දවිත් එන්ගෙදියේ දී සාවුල් මිදීම**
1 සාමුවෙල් 24 : 1 - 22
**දවිත් රජ හා මෙපිබෝෂෙත්**
2 සාමුවෙල් 9 : 1 - 13

ඔබ විසින් විමසා බලන ලද ඉහත බයිබල් කොටස් දෙකෙහි වැදගත් සිදුවීම් සංක්ෂිප්ත ලෙස නැවත මෙලෙස හඳුනා ගනිමු.

## දාවිත් එන්ගෙදියේ දී සාවුල්ගේ ජීවිතය ගැලවීම

- ඉශ්රායෙල් ජනතාවගේ ප්‍රථම රජු සාවුල් වූ අතර විවිධ හේතු මත සාවුල් රජ දාවිත් කෙරෙහි ඊර්ෂ්‍යාවෙන් පසුවිය. එබැවින් සාවුල් රජ දාවිත් මරණයට පත් කිරීමට පවා උත්සාහ දැරී ය. ඉන් මිදීමට දාවිත් පාළුකරයේ සැඟවී සිටියේ ය.
- දාවිත් එන්ගෙදියේ පාළුකරයේ සිටින බව දැනගත් සාවුල් ඇතුළු පිරිස දාවිත් විනාශ කිරීමට ලුහු බැන්දේ ය.

- ★ දාවිත්ට සාවුල් එන්ගෙදියේ ගුහාවේ දී හමු වූ අතර එවිට සාවුල් විනාශ කිරීමට සුදුසු අවස්ථාවක් දාවිත් උදා විය.
- ★ එහෙත් දාවිත් සාවුල් විනාශ නොකොට සාවුල්ගේ සළුවේ කොන රහසින් කපා ගත්තේ ය. එහෙත් ඔහුගේ සිත එම ක්‍රියාව පිළිබඳ ව පවා දොස් තැබී ය.
- ★ දාවිත් සිය සෙනඟට කතා කොට "සමිඳාණන් වහන්සේගේ අභිෂේකය ලත් තැනැත්තාට එනම් සාවුල්ට කිසිදා අනතුරක් කිරීමෙන් වළකින ලෙස නියම කළේ ය.
- ★ සාවුල් ගුහාවෙන් පිට ව ගිය පසු දාවිත් ඔහු අමතා "මාගේ ස්වාමීනී, රජ්ජුරුවන් වහන්ස", යැයි අමතමින් හඬ ගැසී ය. තව ද දාවිත් සාවුල් ඉදිරියේ මුණින්තලා වී වැඳ "මාගේ ස්වාමියා, සමිඳාණන් වහන්සේගේ අභිෂේක ලත් තැනැත්තා බැවින් ඔහුට විරුද්ධ ව මාගේ අත ඔසවන්නේ නැතැ'යි යටහත් පහත් ලෙස පැවසී ය. තව ද ඔහුට විරුද්ධ ව කිසි නපුරක් කිරීමට අදහස් නොකරන බව ද පැවසී ය.
- ★ දාවිත්ගේ වචන ඇසූ සාවුල් "දාවිත් මාගේ පුත්‍රයා ඔය ඔබේ හඬ දැයි" අසමින් ශබ්ද නගා හැඬුවේ ය.
- ★ අනතුරුව "ඔබ මට වඩා දැහැමි ය" යයි පවසමින් දවිත්ගේ දැහැමි බව සාවුල් පිළිගත්තේ ය. සාවුල් තව දුරටත් කතා කරමින් "මා ඔබට නපුර කළ නමුත් ඔබ මට යහපත කළෙහි ය" යනුවෙන් පවසමින් සමිඳාණන් වහන්සේගේ කරුණාව දවිත් කෙරෙහි පැතී ය.

## දාවිත් රජ හා මෙපිබොෂෙත්

- ★ පසුකාලීන ව සාවුල් රජු හා ඔහුගේ පුත් ජොනතන් සටනක දී පරාජය වීම හේතුවෙන් මරණයට පත්විය.
- ★ සාවුල්ට පසුව දාවිත් ඉශ්රායෙල් සෙනඟගේ රජ බවට පත් විය.
- ★ සටනක දී පරාජය වූ රාජ පරම්පරාවේ සියලු දෙනා විනාශ කිරීම එකල සාමාන්‍ය සිරිත වුවත් දාවිත් සාවුල්ගේ වංශයට අයත් තම මිතුරු ජොනතන්ගේ පුත් මෙපිබොෂෙත්ට කරුණාව දක්වීය.
- ★ තව ද සාවුල්ගේ ගම්බිම්, අයිතිය පමණක් නොව දාවිත් සමග රජ මැඳුරේ භෝජන සංග්‍රහයේ එකට හිඳ කෑම අනුභව කිරීමට ද අවස්ථාව මෙපිබොෂෙත්ට හිමි විය.
- ★ රජ පෙළපතට අයත් පවුලේ අය පමණක් එකට හිඳ කෑම අනුභව කිරීම එකල සිරිත වූ නමුත් ජොනතන්ගේ පුත් මෙපිබෝෂෙත්ට එසේ ආරාධනා කිරීමෙන් දාවිත් මෙපිබොෂෙත් තම පුත්‍රයා සේ සැලකුවේ ය.
- ★ මෙපිබොෂෙත්ට ශාරීරික දුබලතා පැවතියත්, ඔහුගේ ජීවිතයට වටිනාකමක් ලබා දෙමින් ඔහු ආදරයෙන් රැකබලා ගනිමින් දාවිත් රජ අන් අයට ද ආදර්ශයක් විය.

මෙලෙස දාවිත් කෙරෙන් ධර්මිෂ්ඨකම මැනවින් ප්‍රකාශ වූ අවස්ථා ලෙස

- ★ එන්ගෙදියේ දී සාවුල්ගේ ජීවිතය මිදීමත්
- ★ මෙපිබොෂෙත්ට කරුණාව දැක්වීමත් පෙන්වා දිය හැකි වේ.

ඒ අනුව දාවිත්ගේ ජීවිත පැවැත්ම තුළින් පිළිබිඹු වූ යහපත් ගුණාංග මෙලෙස හඳුනාගත හැකි වේ.

**දාවිත්**

- සාවුල් දෙවියන් වහන්සේ විසින් කැප කරන ලද පුද්ගලයකු ලෙස පිළිගනු ලැබ ඔහු කෙරෙහි විශේෂතාවක් දැක්වී ය
- දේව භය ඇති ව ක්‍රියා කළේ ය
- යටහත් පහත් ව ක්‍රියා කළේ ය
- පළි ගැනීම වෙනුවට ප්‍රේමයෙන් ක්‍රියා කළේ ය
- නිවැරැදි දේ කෙරෙහි හිත යොමු කළේ ය
- දැහැමි ජීවිතයක් ගත කළේ ය
- කාරුණික දිවි පෙවෙතක් ගත කළේ ය
- කමාව ලබා දුන්නේ ය
- අන් සතු වස්තුව පැහැර නොගත්තේ ය
- අන් සතු ජීවිත සුරැකීමට ක්‍රියා කළේ ය
- තම රජකම තුළින් ලද බලයට තම සිත පාලනය කරන්නට නොදී, දෙවියන් වහන්සේට අයත්වූවකු සේ ක්‍රියා කළේ ය.

මෙලෙස දාවිත් එදා ධර්මිෂ්ඨ ව ක්‍රිය කළා සේ කිතුනු අප ද ධර්මිෂ්ඨ ව ක්‍රියා කිරීම අපේක්ෂා කෙරේ. අප ද අන් අයගේ ජීවිත විනාශ කිරීමට නොව සුරැකීමට ක්‍රියා කිරීමත් එසේ ක්‍රියා කිරීමේ දී අප හා එකඟ ව ක්‍රියා කරන්නන් මෙන් ම අපට විරුද්ධව නැගී සිටින්නන් වෙනුවෙන් ද එක හා සමාන ව කරුණාව දක්වීමේ හදවතක් තිබීමත් අවශ්‍ය වේ. එමෙන් ම තමා සුරක්ෂිත වන්නා සේ යහපත් සෞඛ්‍ය තත්ත්වයෙන් පසුවන අය මෙන් ම විශේෂ අවශ්‍යතා ඇති අය ද සුරක්ෂිත කිරීමට කැප විය යුතු වේ. එලෙස යහපත ඉටු කිරීමෙන් ධර්මිෂ්ඨ සමාජයක් ගොඩ නැගීමට එකමුතු ව ක්‍රියා කරමු.

**ක්‍රියාකාරකම**

1. දාවිත් සතු ව තිබූ යහපත් ගුණාංග ඉස්මතු වූ අවස්ථා ලියා දක්වන්න.
2. කිතුනු දරුවකු ලෙස ඔබ සමග සිටින්නන් හට ප්‍රේමයෙන් ක්‍රියා කළ හැකි අවස්ථා **තුනක්** විස්තර කරන්න.

# 3 යාච්ඤාව - එදිනෙදා ජීවිතයට

ශු. මතෙව් 6 : 5-15

තාක්ෂණය බෙහෙවින් දියුණු ව පවතින වර්තමානයේ සන්නිවේදනය අති ප්‍රබල ව හා වේගවත් ව සිදුවන බව නොරහසකි. ජංගම දුරකථනය, මුහුණු පොත, විද්‍යුත් තැපැල වැනි ක්‍රම, අපගේ සන්නිවේදනය, වඩාත් පහසු කර ඇත. එකිනෙකා සමග කඩිනමින් අදහස් හුවමාරු කරගනිමින් අන්තර් සම්බන්ධතා පවත්වා ගැනීමට මේ මගින් අවස්ථා සැලසී ඇත.

යාච්ඤාව කිතුනු දිවියේ වැදගත් ම සන්නිවේදන මාධ්‍යය වේ. මෙලෙස සන්නිවේදනය සිදුවනුයේ කා අතර ද?

කිතුනුවා → යාච්ඤාව → දෙවියන් වහන්සේ

ජේසුස් වහන්සේ ද නිරන්තරයෙන් යාච්ඤාව තම ජීවිතයට අදාළ කරගත් සේක. එවැනි අවස්ථා කිහිපයක් නම්,

- තම ශ්‍රාවකයන් තෝරා ගැනීමට පෙර
- ප්‍රාතිහාර්ය සිදු කිරීමට පෙර
- සිය මෙහෙය ඇරඹීමට පෙර
- දුක් ප්‍රාප්තියට මුහුණපෑමට පෙර යනාදි වශයෙනි.

එලෙස යාච්ඤා කිරීමට තම ශ්‍රාවකයන්ට ද ඉගැන්වූ ජේසුස් වහන්සේ ඒ සඳහා මඟපෙන්වීමට ආකෘතියක් ද හඳුන්වා දුන් සේක.



**විමසා බලමු**
**ශු.මතෙව් 6 : 5 - 8**

මෙම බයිබල් පාඨය විමසන කල පෙනීයන්නේ ජනතාව ඒ වන විට දෙවියන් වහන්සේට යාච්ඤා කළ ආකාරයෙහි තිබූ දුබලතා දකිමින් ඒවා නිවැරැදි කරගනිමින් යාච්ඤා කිරීමට ජේසුස්වහන්සේ මඟදක්වූ ආකාරයයි.

එදා සමාජයේ ජනතාව යාච්ඤා කිරීමේ දී දැක්වූ දුබලතා හා ජේසුස් වහන්සේ එය නිවැරැදි කළ ආකාරය ඇසුරෙන් පහත වගුව පුරවන්න.

| පැවති වැරදි ක්‍රමය | ජේසුස් වහන්සේ පෙන්වා දුන් නිවැරැදි ක්‍රමය |
|---|---|
| ශු.මතෙව් 6 : 5 :- ................................ | ශු.මතෙව් 6 : 6 :- ........................................ |
| ශු.මතෙව් 6 : 7 :- ................................ | ශු.මතෙව් 6 : 7 :- ........................................ |

මෙලෙස එදා ඔවුන් යාච්ඤා කළ ආකාරයෙහි අර්ථ ශූන්‍ය බව පෙන්වා දීමෙන් උන්වහන්සේ තම ශ්‍රාවකයන්ට හා සියලු කිතුනුවන්ට යාච්ඤාව නිසි මඟ ගැන්වීමට යොමුවක් ලබා දුන් සේක. තනි ව ම හෝ සාමූහික ව තම සිත් හා කල්පනා දෙවියන් වහන්සේ වෙත පමණක් යොමු කරමින්, අර්ථවත් ව හා ඇදහිල්ලෙන් යාච්ඤා කිරීමට ඉගැන්වූ සේක.

ස්වාමීන් වහන්සේ විසින් ම අපහට හඳුන්වා දෙන ලද යාච්ඤාව සමස්තයක් ලෙස ගෙන සලකා බලන කල අවධාරණය කෙරෙන තවත් වැදගත් ලක්ෂණයක් වනුයේ ආත්මාර්ථකාමී බව නොහොත් මමත්වයෙන් මිදී, පරාර්ථකාමී බව නොහොත් සාමූහිකත්වය අවධාරණය කිරීම වේ.




ජේසුස් වහන්සේ විසින් ම අපට ඉගැන්වූ මෙම යාච්ඤාව මගින් කිතුනු යාච්ඤාව නිසිමග ගැන්වීමට සරල ආකෘතියක් සපයන අයුරු විමසා බලමු.

**විමසා බලමු**
**ශු.මතෙව් 6 : 9 - 13**

**දෙවියන් වහන්සේ කේන්ද්‍රකොට ගනිමින් ඉදිරිපත් කර ඇති මෙම යාච්ඤාව මගින් ඉදිරිපත් වන දේව ගුණාංග හා වෙනත් විශේෂ කරුණු පිළිබඳ ව විමසා බලමු.**

**ස්වර්ගයෙහි වැඩවසන**

ස්වර්ගයෙහි වැඩවසන යන්නෙන් යැදුම ඇරඹීමෙන් සර්ව බලධාරී දෙවියන් වහන්සේ කෙරෙහි අපගේ ඇදහිල්ල හා විශ්වාසය රඳවා ගත යුතු බව අවධාරණය කරයි. අපගේ විශ්වාසයේ කර්තෘ අතිඋතුම් දෙවියන් වහන්සේ ම පමණි. උන්වහන්සේ අප අතර මෙන් ම අති උසස් ම ස්ථානයේ වැඩවසන සේක.

**අපගේ පියාණෙනි**

අපගේ පියාණෙනි යනුවෙන් ආමන්ත්‍රණය ජුදෙව් දරුවන්ට ඉතා හුරුපුරුදු සමීප ඇමතුමකි. අබ්බා (පියාණෙනි) යන අරමීය යෙදුම පියා හා දරුවා අතර ප්‍රේමණීය සබඳතාවක් ගෙන හැර දක්වයි. දෙවියන් වහන්සේ හා අප අතර ඇති පිය - දරු සබඳතාවෙහි පැවතීමට ජේසුස් වහන්සේ මෙම යෙදුම මගින් අපට අවධාරණය කර ඇත. උන්වහන්සේ විශ්වාස කරන සැමට ම අපගේ පියාණෙනි, යනුවෙන් ඇමතීමට අවස්ථාව සලසා දීම උන්වහන්සේ තුළ අප සැම කෙරෙහි ඇති දේව ප්‍රේමය ප්‍රකාශ කරන්නකි. දෙවියන් වහන්සේ මෙලොව වසන සැම පුද්ගලයකුගේ ම දෙවියන් වහන්සේ බවත්, දේව කරුණාව සැම කෙනකුට ම හිමි වන බවත් මෙයින් සාක්ෂාත් වේ.

**ඔබ වහන්සේගේ නාමයට ගෞරවය වේවා!**

දෙවියන් වහන්සේගේ ශුද්ධ නාමය ගෞරවයෙන් පසසමින් උන්වහන්සේ වෙතට ළඟා විය යුතු බව ජේසුස් වහන්සේ මෙම යාච්ඤාව මගින් ඉගැන්වූ සේක. බලවන්ත වූ, ශුද්ධ වූ උන්වහන්සේගේ නාමයට ගෞරව දැක්වීම යැදුමක ආරම්භය විය යුතු බව මෙමගින් අපි ඉගෙන ගනිමු. "ඔබ වහන්සේගේ නාමයට ගෞරව වේවා!" යන්නෙන් උන්වහන්සේගේ ශ්‍රේෂ්ඨත්වය හා බල මහිමය වටහා ගනිමින් දේව භයින් යුතු ව යැදුම අරඹීමට අප යොමු කරවයි.

**ඔබ වහන්සේගේ රාජ්‍යය පැමිණේවා!**

දෙවියන් වහන්සේ මාංසවත් ව ජේසුස් ක්‍රිස්තුස් වහන්සේ ලෙසින් මෙලොව වැඩියේ දේව රාජ්‍යය අප වෙත උරුමකර දෙනු පිණිස ය. "ඔබ වහන්සේගේ රාජ්‍යය පැමිණේ වා" යනුවෙන් පැවසීමෙන් උන්වහන්සේගේ රාජ්‍යත්වය ජීවිතයේ අත්දැකීම සඳහා අයැදීම ඇදහිලිවන්තයන්ගෙන් අපේක්ෂා කෙරේ.

**ඔබ වහන්සේගේ කැමැත්ත ඉටු වේවා!**

දෙවියන් වහන්සේගේ කැමැත්ත ස්වර්ගයෙහි මෙන් ම පොළොවෙහි ද ඉටු වේවා යන්න කිතුනුවාගේ සැම යැදුමක ම හරය වීම අපේක්ෂිත ය. දිනපතා ම දේව කැමැත්ත අයැදිමින් යාච්ඤා කිරීමට අපට මෙම යැදුමෙන් මඟ පෙන්වීමක් ලැබේ. ජීවිතයේ සැම අවස්ථාවක දී ම තීරණයක දී ම දේව කැමැත්ත සොයමින් දෙවියන් වහන්සේට භාරවීමට මෙම යාච්ඤාවෙන් අප යොමු කෙරේ.

**අපගේ දවස්පතා ආහාරය අද අපට දුන මැනව**

මාගේ මෙන් ම අප සැමගේ ම අවශ්‍යතා දෙවියන් වහන්සේ වෙත එසවීමට ජේසුස් වහන්සේ මෙම යැදුමෙන් අපට උගන්වයි. "අපගේ දවස්පතා ආහාරය අපට අද දුන මැනව" යන්නෙන් අප සැම දෙනාගේ ම දෛනික අවශ්‍යතා සඳහා දෙවියන් වහන්සේ මත ම යැපීමට අපට හුරුවක් ලබා දෙයි. උන්වහන්සේ අපගේ එඬේරාණන් වන බැවින් උන්වහන්සේ අප දිනපතා පෝෂණය කරන සේක. අවශ්‍ය වනුයේ විශ්වාසයෙන් හා ඇදහිල්ලෙන් උන්වහන්සේ වෙත රැඳී සිටීමයි. **උන්වහන්සේ අපගේ අවශ්‍යතා අප එකිනෙකා අතරින් ම සපුරා දීමට කටයුතු කරන සේක. එනිසා අපගේ මෙන් ම අන් අයගේ ද අවශ්‍යතා ගැන අපට වගකීමක් ඇති බව පැහැදිලි ය.**

**අපට වරද කළ අයට අප කමා කළාක් මෙන් අපේ වරදට අපට කමා වුව මැනව**

අපට වරද කළ අයට අප කමා කළාක් මෙන් අපේ වරදට අපට කමාවුව මැනව යන්නෙන් ජේසුස් වහන්සේ අවධාරණය කරන්නේ පාප කමාව ලබා ගැනීමේ හා පිරිනැමීමේ අවශ්‍යතාවයි. අපගේ පාප සඳහා කමාව ලැබීමට නම් අප විසින් සපුරාලිය යුතු කොන්දේසියක් මෙහි දැක්වේ. එනම් අපට වරද කරන අයට අප කමා වීමයි. අප අන් අයගේ පාප කමා කරන්නේ නම් දෙවියන් වහන්සේ අපේ පාප ද කමා කරන සේක. අපගෙන් අන්‍යයන් වෙත දේව කමාව ගලා යාම අත්‍යවශ්‍ය වේ. දේව කමාව ලබන සැම දෙන දෙවියන් වහන්සේ තුළ නව දිවියක් අත්දකිති. ඒ සඳහා පව් කමාව අයැදිමින් මනස්තාපනයේ ජීවිතයක් නිරතුරු ව ම ගත කිරීමේ අවශ්‍යතාව ජේසුස් වහන්සේ මෙම ආදර්ශ යාච්ඤාවෙන් අවධාරණය කරන සේක.

**අප පරීක්ෂාවට නොපමුණුවා නපුරාගෙන් අප මිදුව මැනව**

ජේසුස් වහන්සේ ඉගැන්වූ ආදර්ශ යාච්ඤාවෙන් ඉදිරිපත් කෙරෙන අයැදීම් අතර දේව රැකවරණය පතා කෙරෙන අයැදීම් වැදගත් වේ. අප පරීක්ෂාවට නොපමුණුවා නපුරාගෙන් අප මිදුව මැනව යනුවෙන් අයැදීමට උන්වහන්සේ ඉගැන්වූ සේක. නපුරා ගෙනෙන පරීක්ෂාවට හසුවීම යනු දෙවියන් වහන්සේගෙන් වෙන් වීම ය. එබැවින් නපුරාගෙන් ගැලවීම පිණිස දේව රැකවරණය පතමින් දෙවියන් වහන්සේ යැදීමට ශ්‍රාවකයෝ යොමු කරන ලදහ. ජීවිත ගමනේ දී අපගේ සිතුවිලි - වදන් මෙන් ම ක්‍රියා ද නපුරාගේ දුෂ්ට පරීක්ෂාවලින් මුදා, පිවිතුරු කිතුනු ජීවිතයක උරුමය රැකගැනීමේ වැදගත්කම මෙම වදනෙන් අවධාරණය කෙරේ.

දෙවියන් වහන්සේගේ සර්ව බලධාරීත්වය හා උත්කෘෂ්ටත්වය පිළිබඳ නැවත මෙනෙහි කොට තුති පුදමින් යැදුම අවසාන කිරීම වැදගත් වේ. ආමෙන්! හෙවත් එසේ ම වේවා! යන්න පැවසීම දෙවියන් වහන්සේට මුළුමනින් ම එකඟත්වය ප්‍රකාශ කරමින් උන්වහන්සේගේ දෑතට භාර වීමට අප කැඳවීමකි.

**මෙලෙස ජේසුස්වහන්සේ අපට ඉගැන්වූ යැදුම භාවිත කරමින් අපි ද,**

- **හැකි සෑම විට ම නිශ්චල ස්ථානයක් තෝරාගෙන දෙවිඳුන් යදිමු.**
  ඕනෑ ම අවස්ථාවක එනම් කලබලකාරී පරිසරයක දීත් දෙවිඳුන් මුණගැසිය හැකි වුව ද, උන්වහන්සේගේ වැඩ සිටීම වඩාත් සමීප ව අත්දැකීම සඳහා එසේ කරමු.
- **දෑත් එක් ව තබා ගනිමින් දෙවිඳුන් යැදීමට කුඩා කල පටන් ම හුරු වෙමු.**
  දෙවියන් වහන්සේ හා සබඳතාව තුළ ඇති වන එකඟත්වය එමගින් අත්දකිමු.
- **දණ නමමින් යාච්ඤාවේ යෙදීමට යොමු වෙමු.**
  එසේ කිරීමෙන් දෙවියන් වහන්සේට මුළුමනින් ම යටත් වන බව ප්‍රකාශ කරමු.
- **දෙවිඳුන් යැදීමේ දී දෑස් පියා ගැනීමට අමතක නොකරමු.**
  මුළු මනස, කල්පනාව හා ආත්මය දෙවියන් වහන්සේ වෙත පමණක් ම පවත්වා ගැනීමට එමගින් හැකි වේ.

මෙසේ ජේසුස් වහන්සේ ම අපට ඉගැන්වූ යැදුමට හදවතින් ම සම්බන්ධ වී,

- උන්වහන්සේට තුති පැසසුම් පුදමු.
- දේව ඇදහිල්ල හා විශ්වාසය වර්ධනය කර ගනිමු.
- දේව ප්‍රේමයට ජීවිත නතු කරමු.
- දේව කැමැත්ත නිරතුරු ව ම ඉටු කරමු.
- දේව පෝෂණය, දේව කමාව හා දේව රැකවරණය අත්දකිමු.

එවිට පරිපූර්ණ කිතුනු දිවියක් හිමි කර ගැනීමට අප සැමට අවකාශ ලැබෙනු ඇත.

**ක්‍රියාකාරකම්**

1. යාච්ඤාවක ඇතුළත් විය යුතු අංග ජේසුස් වහන්සේ අපට ඉගැන් වූ යාච්ඤාව ඇසුරින් පෙන්වා දෙන්න.
2. ජේසුස් වහන්සේ ජීවත් වූ සමාජයේ ජනයා යාච්ඤා කිරීමේ දී අනුගමනය කළ වැරැදි පිළිවෙත් විස්තර කොට ඔබේ යාච්ඤා ජීවිතයේ එය නිවැරැදි කර ගන්නා ආකාරය පිළිබඳ ව පැහැදිලි කරන්න.

# 4 දෙවිඳුන්ගෙන් විසඳුම්

ශු. ජොහාන් 2 : 1-11

## සරණ මංගල්‍යයක ප්‍රාතිහාර්යයක්

ජුදෙව් සමාජයේ විවාහ මංගල්‍යයන් සඳහා හිමි වූයේ සුවිශේෂී වැදගත්කමකි. ජුදෙව්වෝ විවාහ මංගල්‍යයක් දින හතක් පුරා පැවැත්වූහ. මේ දින හත පුරා විවාහ චාරිත්‍ර ඉටුකරමින් සතුට භුක්ති විඳීමට මනාලයා හා මනාලිය ද සහභාගි වූහ. මෙම දින හත පුරා මංගල්‍යයට පැමිණ සිටින සියලු දෙනාගේ අවශ්‍යතා ඉටුකිරීමට අපොහොසත් වුව හොත් එය ඔවුන් සමාජය ඉදිරියේ ලබන විශාල අවමානයකි. එනිසා මෙම දින හත උත්සවශ්‍රීයෙන් සමරමින් සියලු අමුත්තන් පිනවීමට ජුදෙව්වෝ වගබලා ගත්හ.

ජේසුස්වහන්සේට, උන්වහන්සේගේ මෑණියන්ට හා ශ්‍රාවකයන්ට ගලීලයේ කානා නුවර පැවැත්වූ විවාහ මංගල්‍යයකට සහභාගි වීමට ආරාධනා ලැබිණි. එහි දී සිදු වූ විශේෂ සිදුවීමක් ශුද්ධ බයිබලයෙන් විමසා බලමු.

**විමසා බලමු**
**ශු. ජොහාන් 2 : 1 - 11**

ශුභාරංචි පොත් අතරින් කානා නුවර පිළිබඳ ව සඳහන් කරන එක ම ශුභාරංචිය ශුද්ධ වූ ජොහාන් තුමාගේ ශුභාරංචිය වේ. ඒ, එතරම් වැදගත්කමක් ඇති නගරයක් ලෙස ජුදෙව්වන් කානා නුවර නොසැලකූ හෙයිනි. එවන් නුවරක් ජේසුස් වහන්සේ තම ප්‍රථම ප්‍රාතිහාර්යය සඳහා තෝරා ගැනීම ද වැදගත් වේ.

ජුදෙව් සරණ මංගල්‍යයක දී මෙවැනි ගැටලුවක් ඇති වූ විට එම මංගල්‍යයට සම්බන්ධ අය මුහුණපාන තත්ත්වය පිළිබඳ ව අවබෝධයෙන් පසු වූ ජේසුස් වහන්සේගේ මෑණියෝ ඒ බව උන්වහන්සේට දැන්වූහ.

එම දැනුම් දීම නිසා අවමානයකට ලක්වන්නට ගිය නිවැසියන් ඉන් මුදවා ගනිමින් ජේසුස් වහන්සේ මහත් ප්‍රාතිහාර්යයක් සිදු කළ සේක. ගැටිය දක්වා ගල් භාජන හයකට ජලය පුරවන්නැයි උන්වහන්සේ පැවසූ සේක; ඒවා සංවිධායක තැන වෙත ගෙන යන්නට කී සේක. පුදුමයකි! එම ජලය මිදියුෂ බවට පත් ව තිබිණි.



4.1 රූපය - කානාහි සරණ මංගල්‍යය

කානාහි සරණ මංගල්‍යයේ දී මරියතුමිය, ජේසුස්වහන්සේ විසින් එම ගැටලුවට විසඳුම් ලබා දෙන බව විශ්වාස කළා ය. තම පුත්‍රයා දේව පුත්‍රයා ලෙසට ඇ හඳුනාගෙන සිටි බව එයින් අපට පැහැදිලි වේ. ඇ උන්වහන්සේ තුළ විශ්වාසයෙන් බැඳුණා ය. ඇය සේවකයන්හට පැවසුවේ ජේසුස් වහන්සේ කියන ඕනෑ ම දෙයක් ඉටු කරන ලෙස ය. තමා විශ්වාස කළා පමණක් නොව, ඕ සේවකයන් තුළ ද ජේසුස් වහන්සේ කෙරෙහි විශ්වාසය ගොඩ නැඟුවා ය.

අප ජීවත් වන සමාජයේ ඇති වන අර්බුද මැද දේව පුත්‍රයා වූ ජේසුස් වහන්සේ කෙරෙහි විශ්වාසය තැබීම තුළ උන්වහන්සේගේ පිහිට අපේක්ෂා කිරීමට මරියතුමී අපට ආදර්ශයක් ගෙන දෙයි.

ජීවිතයේ සෑම අවශ්‍යතාවක දී ම ජේසුස් වහන්සේට ආරාධනා කරමින් උන්වහන්සේගේ සහභාගීත්වයට ඉඩ සැලසීම දේව දරුවන්ගේ වගකීම වේ. උන්වහන්සේ සෑම මොහොතක ම ලොකු කුඩා අප සැමගේ ආරාධනා පිළිගන්නා සේක. උන්වහන්සේ අප සමග වැඩ සිටීම තුළින් අපගේ ජීවිතවලට මහත් ආලෝකයක් හා ශක්තියක් ලැබේ.

එසේ ම ජීවිතයේ සියලු ම කාරණාවල දී ජේසුස් වහන්සේට අවනත වීමට මෙම සිදුවීමෙන් අපට මඟපෙන්වයි. මිදි යුෂ හිඟ වූ බව දැනගත් මරියතුමිය ජේසුස් වහන්සේට ඒ බව දැනුම් දුන් විට ජේසුස් වහන්සේ ඇයට පැවසුවේ ඔවුන් ඒ පිළිබඳ ව කරදර නොවිය යුතු

බවත් උන්වහන්සේගේ මොහොත තව ම පැමිණ නැති බවත් ය. ලෞකික දිවියේ කාරණා පිළිබඳ ව කරදර නොවී දේව පුත්‍රයා වූ ජේසුස් වහන්සේ දෙස විශ්වාසයෙන් බලා සිටීමට තම මව යොමු කිරීමට ජේසුස් වහන්සේ ක්‍රියා කරන අයුරු පැහැදිලි ව කැපීපෙනේ.

**අප ද මරිය තුමිය මෙන්**

- අපගේ ජීවිත ගැටලු හා අවශ්‍යතා ජේසුස් වහන්සේ වෙතට ගෙන එමු.
- අපගේ ජීවිත ගැටලුවල දී කරදර නොවී ජේසුස් වහන්සේ දේව පුත්‍රයා බව විශ්වාස කරමින් උන්වහන්සේ මත රැඳී සිටිමු.
- ජේසුස් වහන්සේට විශ්වාසයෙන් කීකරු වෙමින් උන්වහන්සේ පවසන දේට අවනත ව උන්වහන්සේට අප ජීවිතවල මහත් දේ කිරීමට ඉඩ හරිමු.

මරියතුමියගේ ක්‍රියාකලාපය විමසා බැලූ අපි එම සරණ මංගල්‍යයේ දී මෙහෙකරුවන් ක්‍රියා කළ අයුරු විමසා බලමු.

> එම ස්ථානයේ තිබුණේ ජුදෙව්වරුන්ගේ පවිත්‍රවීමේ වත්පිළිවෙත් සඳහා ලීටර සියයක් පමණ අල්ලන ගල් භාජන හයක් පමණි. වත්පිළිවෙත් පිළිබඳ ව වඩාත් උනන්දු වූ ජුදෙව්වරු සිය පවිත්‍රත්වය හා පාරිශුද්ධත්වය ගැන බෙහෙවින් සැලකිලිමත් වූහ. ජුදෙව්වරයකු යම් ගෙදරකට ඇතුළු වූ කල සේවකයකු විසින් පාද සේදීම සුලභ ව පැවති ජුදෙව් චාරිත්‍රයකි. එසේ ම අත් හා බඳුන් සේදීමට වෙන ම ජලය පිරවූ බඳුන් තබා තිබිණ. මෙම සේවකයන් ද එම බඳුන් සූදානම් කර තබා තිබුණේ එම පිළිවෙත් ඉටුකිරීම සඳහා බව සඳහන් වේ.
>
> මෙම සේවකයන් ජේසුස් වහන්සේ පැවසූ ආකාරයට භාජනවලට වතුර පිරවූ කල එම මහා ප්‍රාතිහාර්යය සිදු විය. ජේසුස් වහන්සේට කීකරුවීමෙන් මහත් හාස්කමක් අත්දැකීමට ඔවුන්ට හැකි විය. හිස් ගල් භාජන හයකට ඒවායේ ගැටිය දක්වා ජලය ලීටර හයසියයක් පමණ පිරවූ එම සේවකයන් කීකරුකමේ ආශීර්වාදයට ඇතුළත්වූ බව පැහැදිලි ය. ජේසුස් වහන්සේ පවසන දේට අවනත වීමට මින් අපට මඟපෙන්වයි. ඒ තුළින් මහත් ආශීර්වාද ගලා එනු ඇත. ජේසුස් වහන්සේ මෙම අර්බුද අවස්ථාවේ හාස්කමක් සිදුකළ සේක. ඕනෑ ම අර්බුදයක්, ගැටලුවක් උන්වහන්සේට මොහොතකින් වෙනස් කළ හැකි බව විදහා දැක්වූ සේක.

උන්වහන්සේ කානාහි සරණ මංගල්‍යයේ සිටිමින් එහි ඇතිවූ අර්බුදය සැණෙකින් විසඳූ අයුරු විස්මිත ය. ගල්භාජන හයක් ගැටිය දක්වා ජලය පිරවූ සේවකයන් දේව වැඩ සිටීමේ අත්දැකීමට ඇතුළත් වුවා පමණක් නොව සරණ මංගල්‍යයේ සංවිධායක ද එම අත්දැකීමට කැඳවීමට යුහුසුළු විය.

අප දේව බලය අත්දකිමින් එම අත්දැකීම් අන් අය වෙතට ද ගලායාමට හැකි උල්පත් වීම දේව අපේක්ෂාවයි. එවිට අපගේ ආධ්‍යාත්මික ජීවිත වෙනස් වේ.

ජේසුස් වහන්සේට අපගේ ජීවිතය තුළ වඩාත් බලවත් දේ කිරීමට ඉඩහරිමින් කීකරු වීමෙන් වඩාත් ගැඹුරු ආධ්‍යාත්මික අත්දැකීම් ලැබීමට අපට හැකියාව ලැබේ. මෙහි දී ඔවුහු ද දේව වැඩ සිටීම හා සමීපත්වය අත් දුටහ.

එදිනෙදා ජීවිතයේ දී දේව වැඩ සිටීම අත්දැකීම තුළ අප ආධ්‍යාත්මික ජීවිත පූර්ණත්වයට පත්වේ. දෙවියන් වහන්සේගේ සැලැස්මට අනුව ඉතා උසස් හා හොඳ ම දේ උන්වහන්සේ අප ජීවිතවල සිදුකරන සේක. එවිට ඊට පෙර පැවති දෙයට වඩා වටිනාකමින් වැඩි යමක් අත්දැකීමට අපට අවකාශ ලැබේ. ජේසුස් වහන්සේ කානාහි සරණ මංගල්‍යයේ දී,

1. වතුර මිදියුෂ කිරීමෙන් මහත් ප්‍රාතිහාර්යයක් සිදු කළ සේක.
2. දෙවියන් වහන්සේගේ මහත් බලය ජේසුස් වහන්සේ සතු ව පවතින බව ප්‍රකාශ විය.
3. මනාල යුවල ලෞකික අවමානයෙන් ආරක්ෂා විය.
4. සේවක පිරිසගේ අවනත භාවය ඉස්මතු විය.
5. දෙවිඳුන්ගේ කරුණාව තුළ අර්බුද ජයගත හැකි බව අවබෝධ විය.
6. ශ්‍රාවකයන්ගේ ඇදහිල්ල වර්ධනය විය.
7. මරියතුමිය හා සේවකයින්ගේ කීකරුකම තුළින්, එම මංගල්‍යයේ අවශ්‍යතාව සම්පූර්ණ විය.

ජීවිතයේ විවිධ අවශ්‍යතාවල දී දේව වැඩ සිටීම අත්දකිමින් ජේසුස් වහන්සේ වෙත යොමුවීමට අදත් උන්වහන්සේ අපට ආරාධනා කරන සේක. එම ආසිරි ලබමින් අන් අය කෙරෙහි සංවේදී වීම හා අන් අයගේ අවශ්‍යතාවල දී උපකාර කිරීමට ඉදිරිපත් වීම උන්වහන්සේ කිතුනු අප සැමගෙන් අපේක්ෂා කරන සේක.

**ක්‍රියාකාරකම්**

1. කානාහි සරණ මංගල්‍යයේ එක් අවස්ථාවක් දෙබසක් ලෙස ඉදිරිපත් කරන්න.
2. කානාහි සරණ මංගල්‍යයේ විවිධ අවස්ථා මගින් ඔබට ලද හැකි ආදර්ශ **පහක්** ලියා දක්වන්න.

# 5 දේව බලය තුළින් පෝෂණය

ශු. මාක් 8 : 1-10

**ස්වාමීන් වහන්සේ මාගේ එඬේරාණෝ ය**
**අග හිඟ මට නොවන්නේ ය.**

ඉහත ශුද්ධ ලියවිලි පාඨය අපට සිහිපත් කරවන වැදගත් සත්‍යතාව වන්නේ, දෙවියන් වහන්සේ අපගේ දිව්‍ය පෝෂකයාණන් බව ය. උන්වහන්සේ ඒ බව සනාථ කළ අවස්ථා පැරණි ගිවිසුමේ බෙහෙවින් දකින්නට ලැබේ. පාළුකරයේ දී ඉශ්‍රායෙල් ජනයාට පෝෂණය ලබා දීම, එලියා දිවැසිවරයා ශාරෙපත්හි වැන්දඹු ස්ත්‍රිය මගින් හා කපුටන් මගින් පෝෂණය කිරීම ඉන් කිහිපයකි.

එමෙන් ම අප නව ගිවිසුම දෙස බැලීමේ දී ජේසුස් වහන්සේ සිය මෙහෙවරේ දී ජනතාව පෝෂණය කිරීම සඳහා විවිධ ප්‍රාතිහාර්ය සිදුකළ බව පෙනී යයි. පහත දැක්වෙන්නේ එවැනි එක් ප්‍රාතිහාර්යයකි.

**විමසා බලමු**
ශු.මාක් 8 : 1 - 10

| | |
|---|---|
| සම්බන්ධ වූ පිරිස → | හාරදහසක් පමණ වූ විශාල ජනතාවකි. ඔවුන් අතර විවිධ වයස් කාණ්ඩයන්ට අයත් පුද්ගලයන් සිටි බව සැලකේ. ජුදෙව් ජනයා මෙන් ම, විවිධ ජාතීන්ට අයත් ස්ත්‍රී, පුරුෂ, වැඩිහිටි, දරුවන් යන විවිධ ජනතාවක් එහි සිටි බව පැවසේ. |
| රැඳී සිටි කාලය → | දින තුනක් ඔවුන් ජේසුස් වහන්සේගේ දේශනා අසමින් උන්වහන්සේ සමග ඉවසීමෙන් රැඳී සිටි බව සඳහන් වේ. |
| මුහුණ දුන් පොදු ගැටලුව → | දින තුනක් නොකඩවා ඔවුන් ජේසුස් වහන්සේගේ දේශනාවලට සවන් දෙමින් සිටි හෙයින් සෙනඟට කෑමට කිසිවක් ලබාදීම. |

මෙලෙස මෙම පිරිස දින තුනක් පුරා ජේසුස් වහන්සේගේ වදන්වලට සවන් දෙමින් ආධ්‍යාත්මික වශයෙන් තෘප්තිමත් වූහ. ඔවුන්ගේ ආධ්‍යාත්මික අවශ්‍යතාව තම ඉගැන්වීම් මගින් සංසිඳුවාලූ ජේසුස් වහන්සේ ඔවුන් පෙළුණාවූ ශාරීරික අවශ්‍යතාව ද හඳුනාගත් සේක.

ඔබේ ජීවිතයේ කෙදිනක හෝ ආධ්‍යාත්මික සත්‍යතා දැන ගැනීම සඳහා දේව වචනය ඉගෙන ගැනීමට දැඩි වුවමනාවක් ඔබට ඇතිවිණි ද? ඒ උදෙසා ලෞකික ජීවිතයේ අවශ්‍යතා අභිබවා උන්වහන්සේ සමග රැඳී සිටීමට ඔබට හැකි ද?

දින තුනක් පුරාවට උන්වහන්සේගේ දේශන අසමින් රැඳී සිටි ජනතාවගේ ශාරීරික අවශ්‍යතා හඳුනාගත් ජේසුස් වහන්සේ,

- කනගාටු වූ සේක
- ඔවුන්ගේ ශාරීරික අවශ්‍යතා අවබෝධ කර ගත් සේක
- දයානුකම්පාවෙන් ඔවුන්ගේ ගැටලුවට මැදිහත් වූ සේක.

ශ්‍රාවකයන් සමග සාකච්ඡාවෙන් ගැටලුවට විසඳුම් සෙවීමට උන්වහන්සේ උත්සාහ දැරූ සේක. එතරම් පිරිසකට, පාළුකරයක ආහාර සපයා ගැනීමේ අපහසුතාව ශ්‍රාවකයන් විසින් පෙන්වා දෙන ලදි. විසඳුමක් සඳහා ශ්‍රාවකයන් සතු ව තිබුණේ කුමක් ද යන පැනය උන්වහන්සේ විමසූ සේක. ඔවුන් ළඟ රොටි හතක් හා කුඩා මසුන් ස්වල්පයක් පමණක් තිබූ බව සඳහන් වේ.

උන්වහන්සේට එක් මොහොතකින් ප්‍රාතිහාර්යාත්මක විසඳුමක් දීමට හැකියාව තිබුණ ද උන්වහන්සේ ශ්‍රාවකයන් ද ඒ සඳහා සම්බන්ධ කර ගැනීමට ක්‍රියා කළ සේක. ගැටලුවට විසඳුම් සෙවීමට උන්වහන්සේ ප්‍රයත්න දැරුවේ ශ්‍රාවකයන් ජනතාවගේ අවශ්‍යතාව දැකීමට යොමු කරමිනි.

මෙලෙස මිනිසාගේ ගැටලුවලට මිනිස් බුද්ධියෙන් ළඟා කරගත නොහැකි ප්‍රාතිහාර්යාත්මක විසඳුමක් ලබාදීමට උන්වහන්සේ ඉදිරිපත් වූ සේක.

ජේසුස් වහන්සේ විසින් මෙම ප්‍රාතිහාර්ය සිදු කළ ආකාරය දෙස දැන් අපි යොමු වෙමු.

- උන්වහන්සේ සමූහයාට බිම හිඳගන්නට සැලැස්වූ සේක
- රොටි හත ගෙන දෙවියන් වහන්සේට තුති පිදූ සේක
- අනතුරුව රොටි හත කැඩූ සේක

- රොටි හත ජනතාවට පිළිගැන්වීමට ශ්‍රාවකයන්ට භාර දුන් සේක
- එසේ ම ඔවුන් ළඟ තිබූ කුඩා මසුන් ස්වල්පයට ද ආශීර්වාද කොට එය ද සමූහයා වෙත බෙදා දීමට ශ්‍රාවකයන්ට පැවසූ සේක.

එසේ ම එම ප්‍රාතිහාර්යාත්මක සිදුවීම පිළිබඳ ව දේව වචනය තව දුරටත් මෙලෙස සඳහන් කරයි.

*"ඔවුහු ද කා තෘප්තියට පැමිණියහ. ඉතිරි වූ කැබලි එක්කොට කූඩා හතක් පුරවා ගත්හ. එහි සෙනග හාරදහසක් පමණ වූහ"* (මාක් 8:8.-9)

ජේසුස් වහන්සේ මිනිස් අවශ්‍යතා දැක හඳුනාගෙන ඒවා සැපිරීමට මහත් ප්‍රාතිහාර්ය සිදු කළ අතර, හාර දහසකට කන්නට දීමේ මෙම ප්‍රාතිහාර්යය තුළ අපගේ ජීවිතවලට ගෙනෙන මඟ පෙන්වීම් මොනවා ද යන්න දැන් විමසා බලමු.

- ජේසුස් වහන්සේ දේව පුත්‍රයාණන් නිසා උන්වහන්සේ මිනිස් සීමාවලින් ඔබ්බට ගොස් මහත් හාස්කම් සිදු කළ සේක. ශුභාරංචි කියවීමේ දී හා ඔබගේ ම පෞද්ගලික ජීවිතයේ අත්දැකීම්වලින් එය ඔබට හඳුනා ගත හැකි ය. එම නිසා මේ ආදරණීය බලවත් සමිඳාණන් දෙස ඇදහිල්ලෙන් බලමු.

- උන්වහන්සේ මිනිස් අවශ්‍යතා නියම ලෙසට හඳුනා ගන්නා සේක. එසේ ම මිනිසාගේ අසීරු තත්ත්ව පිළිබඳ ව කනගාටුවට පත්වන සේක. ජේසුස් වහන්සේ සිදු කළ මෙම ප්‍රාතිහාර්යය තුළ මනුෂ්‍යයා පිළිබඳ ව උන්වහන්සේ දක්වන සංවේදී බව මනා ව පිළිබිඹු වෙයි. මිනිසාගේ ආධ්‍යාත්මික පෝෂණය මෙන් ම ශාරීරික පෝෂණය ගැන උන්වහන්සේ අවධාරණයෙන් සිටින සේක. මිනිසාගේ අවශ්‍යතා සම්පූර්ණ කිරීමට උන්වහන්සේ ඉදිරිපත් වන සේක. අපගේ ජීවිත ගැටලුවල දී, උන්වහන්සේ මැදිහත් වන බව විශ්වාස කරමු.

- ජේසුස් වහන්සේ මෙම ප්‍රාතිහාර්යය සිදු කිරීමේ දී ශ්‍රාවකයන්ගේ සහභාගිත්වය ද ඒ සඳහා යොදා ගත් සේක. ප්‍රාතිහාර්යය සිදු කරන්නේ උන්වහන්සේ ය; නමුත් එහි යම් යම් අවස්ථා සඳහා ශ්‍රාවකයන්ට දායක විය හැකි විය. සමිඳාණන් වහන්සේ ප්‍රාතිහාර්ය සිදු කිරීම සඳහා අප ද සහභාගි කර ගන්නා සේක. ඇදහිල්ලෙන්, උන්වහන්සේගේ අණට කීකරු වීමෙන් ඔබට ද උන්වහන්සේගේ මහත් බලය අත්දැකිනු හැකි වේ.

- සැම දෙනා කෙරෙහි දයානුකම්පාව දැක්වීමට ද, ගැටලු සහගත අවස්ථාවල දී එක් ව දෙවිඳුන් පාමුලට පැමිණීමට ද ඔබ උනන්දු වීම අවශ්‍ය ය. ජේසුස් වහන්සේ ජනතාව ගැන සංවේදී වූයේ යම් සේ ද, එලෙසින් සමාජයේ අවශ්‍යතා උදෙසා සංවේදී වීමට අපට අභියෝගයක් තිබේ.

- මෙම සෙනගගේ අධ්‍යාත්මික හා ශාරීරික අවශ්‍යතා උන්වහන්සේ සැපිරූ සේක. දේව වචනය කියවමින්, දෙව්ඳුන්ට සවන් දෙමින්, ආධ්‍යාත්මික ව ශක්තිමත් ව උන්වහන්සේ ළඟ රැඳී සිටීමට අවශ්‍ය වේ. ජීවිතයේ සියලු අවශ්‍යතා ඔබට සළසා දෙන්නේ උන්වහන්සේ ය.

- එම නිසා උන්වහන්සේ වෙතට ඇදහිල්ලෙන් පැමිණෙමු. උන්වහන්සේගෙන් පෝෂණය වෙමු. ලෝකය තුළ බලවත් දේ සිදු කිරීමට උන්වහන්සේට හැකි බව විශ්වාස කරමු.

**ක්‍රියාකාරකම්**

1. ඔබ භාරදහසකට කෑම දීමේ සිදුවීමට සම්බන්ධ වූ අයකු යැයි සිතා එම සිදුවීම ඔබේ වචනයෙන් විස්තර කරන්න.
2. භාරදහසකට කෑම දීමේ සිදුවීමෙන් ජීවිතයට ලද හැකි අත්දැකීම් **පහක්** ලියන්න.

# 6 ඇදහිල්ලෙන් සුවය

ශු. ජොහාන් 4 : 46-54

කතානායක : ගලීලයේ කානා නම් ගමට වැදගත්කමක් එක් කරමින්, ජේසුස් වහන්සේ සිය ප්‍රථම දේව බල ප්‍රකාශනය එහි සරණ මංගල්‍යයක දී සිදුකළ බව ඔබ අසා ඇත. මෙන්න කානා නුවර සිදු වූ තවත් ප්‍රාතිහාර්යයක්.

තරුණයා : මෙවර දේව බල ප්‍රකාශනය අත්දකීමට අවස්ථාව ලැබුවේ කවුද?

කතානායක : ඔහු රාජ්‍ය නිලධාරියෙක්. හෙරොද් ඇන්ටිපස් රජුට සේවය කළ නිලධාරියෙක් බව පැහැදිලි වෙනවා. තම පුත්‍රයා රෝගාතුර ව කපර්ණවුමෙහි සිටි අතර ජේසුස් වහන්සේ ජුදයේ සිට ගලීලයේ කානා නම් ගමට වැඩම කළ බව ඔහුට අසන්නට ලැබෙනවා.

තරුණයා : ඉතිං ඔහු සිය පුත්‍රයා කපර්ණවුමෙහි සිට කානාහි සිටි ජේසුස් වහන්සේ වෙත රැගෙන ආවා ද?

කතානායක : නැහැ, ඔහු ම උන්වහන්සේ වෙතට ගියා. මොහොතක් සවන් දෙන්න. ඒ රාජ්‍ය නිලධාරියාගේ හා ජේසුස් වහන්සේගේ හමුවට.

රාජ්‍ය නිලධාරියා : මහතාණෙනි, මාගේ පුත්‍රයා රෝගාතුර ව මරණාසන්න ව කපර්ණවුමෙහි සිටිනවා, කරුණාකර ඇවිත් ඔහු සුව කළ මැනවි.

ජේසුස් වහන්සේ : ඔබ ලකුණුත් අරුම පුදුම දේත් දුටුවොත් මිස විශ්වාස කරන්නේ නැහැ.

රාජ්‍ය නිලධාරියා : මහතාණෙනි, මගේ දරුවා මිය යන්නට පෙර වඩින්න.

ජේසුස් වහන්සේ : යන්න ඔබේ පුත්‍රයා ජීවත් වෙනවා.

කතානායක : මේ රාජ්‍ය නිලධාරියා ජේසුස් වහන්සේගේ වචනය විශ්වාස කරමින් යන්නට ගියා. මඟ දී ඔහු හමුවන්නට පැමිණි ඔහුගේ දාසයන් හමුවුණා.

තරුණයා : ඔවුන් ඔහු හමුවන්නට පැමිණියේ ඇයි?
විශේෂ හේතුවක් තිබුණා ද?

**කතානායක :** ඔබ ම අසා දැනගන්න.

**දාසයෝ :** ස්වාමීනි ඔබේ පුත්‍රයා ජීවත් වෙනවා.

**රාජ්‍ය නිලධාරියා :** ඔහු සුව වන්නට පටන් ගත්තේ කොයි වේලාවේ ද? කරුණාකර මට කියන්න.

**දාසයෝ:** ස්වාමීනි, ඊයේ පස්වරු එකට පමණ උණ බැස්සා.

**රාජ්‍ය නිලධාරියා :** "ඔබේ පුත්‍රයා සුවපත් වන්නේ" යැයි එතුමා මට පැවසුවේ ඒ මොහොතේ දීයි. (තම සිතින් සිතා ගනියි)

**කතානායක :** මේ මහා සුවයේ ප්‍රාතිහාර්යය අත්දුටුවේ එම රාජ්‍ය නිලධාරියා පමණක් නොවෙයි. ඔහුත් ඔහුගේ නිවසේ සියලු දෙනාත් ජේසුස් වහන්සේ අදහා ගත්තා.

**තරුණයා :** ජේසුස් වහන්සේ ගලීලයේ දී මෙවැනි ප්‍රාතිහාර්ය බොහොමයක් සිදු කර තිබෙනවා නොවේ ද?

**කතානායක :** ඔව්, උන්වහන්සේ ජුදයේ සිට ගලීලයට පැමිණි පසු සිදු කළ දෙවන දේව බල ප්‍රකාශනය මෙයයි. උන්වහන්සේට සියලු ගෞරවය ද මහිමය ද වේවා!

අපි දැන් එම සිදුවීමෙන් අපගේ ජීවිතවලට ලද හැකි ආදර්ශ විමසා බලමු.

## රාජ්‍ය නිලධාරියාගෙන් විදහා දක්වුණු චරිත ලක්ෂණ

* බලය, සැප සම්පත් කෙතරම් හිමි වුව ද තම රෝගාතුර පුත්‍රයාගේ මරණාසන්න අවස්ථාවේ ඔහුට සුවය පතා විශ්වාසයෙන් උන්වහන්සේ වෙතට ළඟාවීම
* කපර්ණවූමෙහි සිට කානා නුවරට සැතපුම් 20ක් පමණ තිබුණ ද, ඒ දුරකතර ගෙවා දරුවාගේ සුවය අපේක්ෂාවෙන් ඔහු ජේසුස් වහන්සේ වෙතට පැමිණීම
* ඔහු ජේසුස් වහන්සේ පිළිබඳ ව දැන සිටි බැවින්, මේ වේදනාබර අවස්ථාවේ උන්වහන්සේට විශ්වාසයෙන් හා ඇදහිල්ලෙන් ආයාචනය කිරීම
* තමා බලාපොරොත්තු වූ ආකාරයට උන්වහන්සේ ක්‍රියා නොකළ ද ඔහු උන්වහන්සේට විශ්වාසයෙන් කීකරු වීම.

මෙලෙස ජේසුස් වහන්සේ සුවය ගෙනෙන ජීවමාන දෙවියන් වහන්සේ බව ඔහු අත් දුටුවේ ය. ජේසුස් වහන්සේ සිදු කළ මහා ප්‍රාතිහාර්ය තුළ ස්වාමීන් වහන්සේගේ බල මහිමය අත්දුටහ. ගෙයි වැසි සියල්ලෝ ම උන්වහන්සේ අදහා ගැනීමේ ආශීර්වාදයට ඇතුළු වූහ.

අපි ද රෝග පීඩාවලට මුහුණ දීමේ දි

- ජේසුස් වහන්සේ මනුෂ්‍යයා සුවපත් කරන දෙවියන් වහන්සේ බව විශ්වාස කරමු.
- විශ්වාසයෙන් උන්වහන්සේ වෙතට යොමු වෙමු.
- සුවය පතා උන්වහන්සේට යාච්ඤා කරමු.
- උන්වහන්සේ කෙරෙහි විශ්වාස කරමු.
- උන්වහන්සේගේ බලවත් ප්‍රාතිහාර්ය අයැද සිටිමු.
- හදවතින් ම උන්වහන්සේට කීකරු වෙමු.
- ඇදහිල්ලෙන් ප්‍රාතිහාර්ය අත් දකිමු.
- අන් අයගේ අවශ්‍යතා ද ස්වාමීන් වහන්සේ වෙත ඔසවමු.

**ක්‍රියාකාරකම්**

1. ස්වාමීන් වහන්සේ තුළින් සුවය ලැබීමට නම් අප තුළ තිබිය යුතු ගුණාංග ලැයිස්තුවක් පිළියෙල කරන්න.
2. සුවයේ ආශීර්වාදය පතන ඔබගේ මිතුරකු / හිතවතෙකු වෙනුවෙන් යාච්ඤාවක් නිර්මාණය කරන්න.

# 7 දයානුකම්පාවෙන් සුවය

සබත් දිනය ජුදා ජන ජීවිතයේ අතිශයින් වැදගත් දිනයක් විය. පංච පුස්තකයට අනුව යමින් සබත් දිනය පැවැත්වීම පිළිබඳ ව ජුදෙව්වෝ මහත් උනන්දුවක් දැක්වූහ.

එහෙත් ජේසුස් වහන්සේ එවන් නීති මධ්‍යයේ පවා සිය දයානුකම්පාවේ මෙහෙවර ඉටුකිරීමට පසුබට නොවූ සේක. ජුදෙව්වන්ගේ දැඩි විවේචනයන්ට ලක් වෙමින් උන්වහන්සේ සබත් දිනයේ දී පවා රෝගීන් සුවකරමින් මනුෂ්‍යා වෙත දයානුකම්පාව දැක්වූ ආකාරය ශුභාරංචිවල සඳහන් වේ. ඉන් එක් අවස්ථාවක් විමසා බලමු.



**විමසා බලමු**
**ශු. මාර්ක් 3 : 1 - 6**

දෙවියන් වහන්සේ සබත් දින ස්ථාපනය කරනු ලැබූයේ එදින ශුද්ධ ලෙස පැවැත්වීම උදෙසා ය. එනිසා සබත් දිනයේ පවා වුව ද මිනිසා විසින් යහපත ඉටුකරලීම දේව අපේක්ෂාව වේ. "මිනිසා සබත උදෙසා නොව, සබත මිනිසා උදෙසා ය" යන පිළිවෙත උන්වහන්සේ සැමවිට ම අනුගමනය කළ සේක.

ඉහතින් අප කියවා බැලූ ශුභාරංචි පාඨයේ සඳහන් සිදුවීම එය මනා ව සාක්ෂාත් කරයි. ජේසුස් වහන්සේ සබත් දින යහපත්කම සිදුකිරීමට යොමු කළ ආකාරය එම සිද්ධියෙන් අවධාරණය කෙරේ.

දැන් අපි එම සිද්ධිය විමසා බලමු.

අතක් පණ නැති මිනිසෙකු සබත් දින ධර්මශාලාවේ සිටි අවස්ථාවේ දී, පුරුදු පරිදි ජේසුස් වහන්සේ ද එදින ධර්මශාලාවට වැඩිය සේක. දේව වචනය හැදෑරීම වැනි ආධ්‍යාත්මික වර්ධනයට අදාළ දේ ජුදෙව් ජන සමාජයට සපිරුණේ ධර්මශාලාවෙනි. ජේසුස් වහන්සේ ද ධර්ම ශාලාවට විවිධ අවස්ථාවල ගිය බව ශුභාරංචිවල සඳහන් වෙයි.

එවන් අවස්ථාවක දී සිදු වූ දෙයක් විමසා බලමු.

**ජේසුස් වහන්සේ ධර්ම ශාලාවට පැමිණි කල සෙනග උන්වහන්සේ දෙස විමසිලිමත් ව බලා සිටියෝ ය. එලෙස සිටියේ ඇයි?**

- ★ උන්වහන්සේට වරද තබන පිණිස ය.
- ★ සබත් දිනයේ දී උන්වහන්සේ අතක් පණ නැති මිනිසා සුව කරන්නේ දැයි බැලීමට ය.

සබත් දිනයේ දී යම් කාර්යයක නිරත වීම දඬුවම් ලැබිය හැකි වරදක් බව ජුදෙව්වෝ විශ්වාස කළහ. ජේසුස් වහන්සේ ද ඔවුන් ව්‍යවස්ථාව විවරණය කළ අන්දම දැන සිටි සේක.

**එසේ තිබියදී ජේසුස් වහන්සේ සිදු කළේ කුමක් ද?**

ජේසුස් වහන්සේ

- අතක් පණ නැති මිනිසාට ඉදිරියට ආරාධනා කළ සේක.
- සෙනගගෙන් ප්‍රශ්නයක් ඇසූ සේක.
- සෙනගගේ සිත් දැඩිකම පිළිබඳ ව දුක්වූ සේක.
- නොපමාව මිනිසාට සුවය ලබා දුන් සේක.

සබත් දිනයේ දී කළ යුත්තේ යහපත ද, අයහපත ද, ප්‍රාණයක් ගැලවීම ද නැසීම ද? යන ප්‍රශ්නය මෙහි දී ජේසුස් වහන්සේ සෙනගගෙන් ඇසූ සේක. විනයධරයන් නීතිය විවරණය කල පිළිවෙළ ජේසුස් වහන්සේ මෙතන දී ප්‍රශ්න කරමින්, දෙවියන් වහන්සේගේ කැමැත්ත සබත් දින යහපත උදෙසා යෙදවීම බව පෙන්වා දෙන සේක. මිනිසුන් සිතන, පිළිවෙළහි දුර්වල තැන් මෙතැන දී උන්වහන්සේ නිවැරදි කරන අතර, එය නොපිළිගැනීම ගැන උන්වහන්සේ දුක්වන බව පෙනේ. ඒ බව උන්වහන්සේ මහත් දයානුකම්පාවෙන් එම මිනිසාට සුවය ලබා දුන් ආකාරයෙන් පැහැදිලි වෙයි.

මෙම අවස්ථාවේ දී ජේසුස් වහන්සේ සතු වූ දේව බලය සමූහයා ඉදිරියේ ප්‍රකාශ වූ අතර උන්වහන්සේ සුවය ගෙනෙන තැනැත් වහන්සේ බව මින් පැහැදිලි විය.

**රෝගී වූ මිනිසා කළේ කුමක් ද?**

**අතක් පණ නැති මිනිසා**

- නැගිට ඉදිරියට එන්නැයි ජේසුස් වහන්සේ වදාළ කල ඔහු එයට කීකරු විය
- විවිධ විවේචන සිදුවන අතරේ ඔහු ජේසුස් වහන්සේ ඉදිරියේ පෙනී සිටියේ ය.
- ඔබේ අත දිග හරින්න යයි ජේසුස් වහන්සේ වදාළ කල, ඔහු කීකරු ව එසේ කළේ ය. එලෙස ඔහු සුවය ලැබී ය.

මේ මිනිසා ජේසුස් වහන්සේ කී ලෙස ම කටයුතු කළ අතර, එම කීකරුකමට ඔහුට ආශීර්වාද උරුම විය. ඔහුගේ අත සුව විය.

ජේසුස් වහන්සේ නීතිරීති සම්ප්‍රදාය නොසලකා ඉතා සංවේදී ව දයානුකම්පාවෙන්, මේ අසරණ මිනිසා ගැන ක්‍රියා කළ අන්දම අපට මහත් ආදර්ශයකි.

සබත් දිනය ශුද්ධ දිනයක් ලෙස පැවැත්විය යුතු වන්නේ, දේව දරුවන් ලෙස අප එදින උපරිම ලෙසට යහපත සිදු කිරීමෙනි. අනෙක් දින ද ශුද්ධ ලෙස ද, ගරු කටයුතු ලෙස ද ගත කළ යුතු බව මතක තබා ගනිමු.

අප සමාජය තුළ පිරිපුන් ජීවිතයක් ගත කිරීමේ දී, සමාජයේ අවශ්‍යතා ඇති අය ගැන සැලකිලිමත් වෙමු. එසේ කිරීමේ දී,

- සමාජයෙන් එල්ලවන අයහපත් ප්‍රතිචාර හේතුවෙන් පසුබට නොවෙමු.
- ජේසුස් වහන්සේ තුළ විශ්වාසය ඇදහිල්ල හා කීකරුකම වර්ධනය කරගනිමු.
- ජේසුස් වහන්සේ දිව්‍ය වෛද්‍යවරයාණන් බව විශ්වාස කරමු. ඒ බව සමාජයට හඳුන්වා දෙමු.

ඒ උදෙසා මෙලෙස දෙවිඳුන් යදිමු.

දයාබර දෙවිඳුනි,

ඔබ වහන්සේ කෙරෙහි ඇදහිල්ල හා විශ්වාසය අප තුළ වර්ධනය කළ මැනව. අප සැමට කීකරුකමේ ජීවිතයක් ගෙනදුන මැනව. දයාවෙන් ප්‍රේමයෙන් හා කරුණාවෙන් හදවත පුරවා ගනිමින් අසරණ දනට සරණවීමට හැකියාව ලබාදුන මැනව. ඔබ වහන්සේ දිව්‍ය වෛද්‍යවරයාණන් ලෙස ලොවට හඳුන්වාදීමට අප මෙහෙයවුව මැනව.
කිසි විටෙකත් කිසි දෙයකින් පසුබට නොවී දිරියෙන් සේවයේ යෙදෙනට අපට වරම් ගෙන දුන මැනව.

ආමෙන්

**ක්‍රියාකාරකම**

1. කිතුනු ඇදහිල්ල තුළ, අප විසින් නිතිපතා අනුගමනය කළ යුතු පිළිවෙත් **තුනක්** පෙන්වා දෙන්න.
2. කිතුනු ප්‍රේමය තුළ රෝගීන් වෙනුවෙන් අපට ඉටු කළ හැකි කාරණා **තුනක්** සඳහන් කරන්න.

# 8 ශුද්ධාත්ම බලය අත්දුටු මුල් සභාව

ක්‍රියා 4 : 5-22

මිනිස් වර්ගයාගේ විමුක්තිය උදෙසා වූ ජේසුස් වහන්සේගේ මෙහෙවර උන්වහන්සේගේ නැවත පැමිණීම දක්වා පවත්වාගෙන යෑම කිතුනු අපගේ වගකීම වේ. උන්වහන්සේගේ මෙහෙවර උදෙසා අප කැපවන කළ, ඒ සඳහා අවැසි මගපෙන්වීම - බලය - ශක්තිය අපවෙත හිමිකර දෙන බවට ජේසුස් වහන්සේ පොරොන්දු වූ සේක. ඒ උදෙසා **ජේසුස් වහන්සේ අප කෙරෙහි ක්‍රියා කරනුයේ ශුද්ධාත්මයාණන් වහන්සේ මගිනි.** ඒ බව මළවුන්ගෙන් උත්ථාන වූ ජේසුස් ක්‍රිස්තුස් වහන්සේ ස්වර්ගාරෝහණවන අවස්ථාවේ දී ප්‍රේරිතයන් වෙත මෙලෙස ප්‍රකාශ කර සිටි සේක.

***"...... ශුද්ධාත්මයාණන් වහන්සේ ඔබ වෙත පැමිණි කල ඔබ බලය ලබන්නහු ය. එවිට ඔබ ජෙරුසලමෙහි ද, මුළු ජුදයෙහි හා සමාරියෙහි ද, පොළොවේ සීමාන්තය දක්වා ද, මාගේ සාක්ෂිකාරයෝ වන්නහු ය"***

ජේසුස් වහන්සේ වදාළ පරිදි ම පෙන්තකොස්ත දිනයේ දී උන්වහන්සේ එකී ශුද්ධාත්ම බලය ඔවුන් වෙත ප්‍රදානය කළ සේක.

ශුද්ධාත්මදානය ලැබීම තුළ මහත් බලයක් ලද්දා වූ ප්‍රේරිතවරු ජේසුස් වහන්සේගේ උත්ථානය පිළිබඳ ව සාක්ෂි දරමින් ද, බලවත් ලෙස දේශනා කරමින් ද, එහි ප්‍රතිඵල ලෙස මනස්ථාපනය වී සිත් හරවා ගනු ලබන්නවුන් ජේසුස් ක්‍රිස්තුස් වහන්සේගේ නාමයෙන් බව්තීස්ම - ස්නාපනය කරමින් ද, ලෙඩුන් සුවපත් කරමින් ද, දහස් ගණනින් සෙනග ස්වාමීන් වහන්සේ වෙතට හරවා ගත්හ.

ප්‍රේරිතයන් ශුද්ධාත්ම දානය ලද පසු කරන ලද පළමු බලවත් ක්‍රියාව වූයේ "සුදර්ශන" නම් ලත් දොරටුව අසල දිනපතා සිඟමන් යදිමින් සිටි කොරවූ මිනිසා සුවපත් කරනු ලැබීම ය. එම සිද්ධිය ස්වාමීන් වහන්සේ මහිමයට පත්වන පිණිස ශුද්ධාත්ම බලය ප්‍රේරිතයන් මගින් ක්‍රියාත්මක වූ අවස්ථාවක් විය. මහත් සෙනගක් අභියස සිදු කරන ලද මෙම බලවත් ක්‍රියාව, ජේසුස් වහන්සේ කුරුසිපත් කළ හා තවදුරටත් උන්වහන්සේ වෙනුවෙන් පෙනී සිටි ප්‍රේරිතවරුන් වරදට පත්කරන්නට බලා සිටින්නවුන් හට ඉවසුම් නොදෙන කාරණයක් විය.



8.1 රූපය - සුදර්ශන දොරටුව ළඟ කොරවූ මිනිසාට සුවය ලැබීම

මෙලෙස, උත්ථාන වූ ජේසුස් වහන්සේගේ සාක්ෂිකාරයන් වීම හා ශුද්ධාත්ම බලය තුළ ඔවුන් සුබ අස්න ප්‍රකාශ කරන්නට එඩිතර ව ඉදිරිපත් වීම නිසා ප්‍රේරිතයන්ට විඳින්නට සිදුවන කටුක අත්දැකීම් ද, ශුද්ධාත්මයාණන් වහන්සේ ඔවුන් තුළ ක්‍රියා කිරීම හේතුකොටගෙන ඔවුන් එම අවස්ථාවන්ට එඩිතර ව මුහුණ දෙන ආකාරය හා ඒ මගින් ස්වාමීන් වහන්සේ මහිමයට පත්කරනු ලබන ආකාරය ද විමසා බලමු.

**විමසා බලමු**
**ක්‍රියා 4 : 1 - 22**

ඉහත ඔබ විසින් විමසා බලන ලද බයිබලීය කොටසෙහි ක්‍රියා 4:10 සිට 20 දක්වා වූ පදවලින් අපගේ ජීවිතවලට ලද හැකි අත්දැකීම් පහත දැක්වෙන වගුවෙහි වම් පසෙහි දක්වා ඇත. අදාළ බයිබලීය කොටස නැවත හොඳින් විමසා බලන්න. ඒ ඒ අත්දැකීමට වඩාත් ගැළපෙන බයිබල් පාඨය තෝරාගෙන ඊට ඉදිරියෙන් ලියන්න. (මෙම වගුව ඔබගේ අභ්‍යාස පොතෙහි සටහන් කරගෙන මෙම අභ්‍යාසයෙහි යෙදෙන්න)

| ලද හැකි අත්දැකීම් | වඩාත් ගැළපෙන බයිබල පාඨ |
|---|---|
| ★ අපගේ ජීවිත ගැලවීම සලසා දෙන එක ම තැනැත් වහන්සේ ජේසුස් වහන්සේ බව | ............................................................ |
| ★ ලෞකික ජීවිතයේ කිසිදු වටිනාකමක් නොදැකිය හැකි පුද්ගලයන්, ජේසුස් වහන්සේ තුළ ජීවත් වන කල්හි මහත් වටිනාකමක් ලබන බව | ............................................................ |
| ★ ජීවිතයේ සියලු කාරණාවල දී ප්‍රමුඛතාව හිමිකර දිය යුත්තේ ලෞකික දේවලට නොව දෙවියන් වහන්සේ වෙත බව | ............................................................ |
| ★ ජේසුස් වහන්සේ අපගේ ජීවිතවලට පැමිණි කල, උන්වහන්සේ ගැන සාක්ෂි දරමින් මහිමයට පත් කිරීම නොකර සිටිය නොහැකි දෙයක් බවට පත්වන බව | ............................................................ |
| ★ යමෙකු දෙවියන් වහන්සේගේ නාමය නිසා ප්‍රතික්ෂේප කරනු ලබන්නේ ද ඔහු උසස් කරනු ලබන බව | ............................................................ |
| ★ උත්ථාන වූ ජේසුස් වහන්සේගේ අනුහසින් රෝගීන් සුවපත් වන බව | ............................................................ |

එදා ජේසුස් වහන්සේ ස්වර්ගාරෝහණ වන අවස්ථාවේ දී ප්‍රේරිතයන් වෙත පවරන ලද මෙහෙවර එනම් ***"පොළොවේ සීමාන්තය දක්වා මාගේ සාක්ෂිකාරයෝ වන්න"*** යන්න කිතුනු අප සැම දෙන වෙත ද පැවරෙන වගකීමක් වේ. එම උතුම් වූ වගකීම ඉටුකිරීම සඳහා අවශ්‍ය මග පෙන්වීම මෙන් ම බලය ද උන්වහන්සේ අප වෙත ලබා දෙන සේක. ඒ උන්වහන්සේ පොරොන්දු වූ ලෙස ශුද්ධාත්මයාණන් වහන්සේ අප වෙත දානය කරනු ලැබීම මගින් වේ. එකී දේව මෙහෙවරට අප යොමුවන කල විවිධ කටුක අත්දැකීම්වලට ලක්වීමට අපට සිදුවනු ඇත. නමුත් එදා ප්‍රේරිතයන් හට ලබා දුන්නාක් මෙන් අප හට ද අවශ්‍ය බලයත් - ශක්තියත් - රැකවරණයත් - අවසානයේ ජයග්‍රහණයත් උන්වහන්සේ සලසා දෙන සේක.

**ක්‍රියාකාරකම**

1. ශුද්ධාත්මදානය ලැබීම තුළ එදා ප්‍රේරිතයින් විසින් සිදු කරන ලද බලවත් ක්‍රියා හඳුන්වා දෙන්න.
2. පේදුරු තුමා සහ ජොහාන් තුමා මන්ත්‍රණ ශාලාව ඉදිරියේ ක්‍රියාකළ ආකාරය මගින් අපගේ කිතුනු ජීවිතවලට ලද හැකි ආදර්ශ **හතරක්** කෙටියෙන් විස්තර කරන්න.

# 9 අභියෝග හමුවේ සුභාරංචියේ ව්‍යාප්තිය

ක්‍රියා 5 : 12-21

මළවුන්ගෙන් උත්ථාන වූ ජේසුස් ක්‍රිස්තුස් වහන්සේ ස්වර්ගාරෝහණ වන අවස්ථාවේ දී වදාළ පරිදි, පෙන්තකොස්ත දිනයේ දී ශුද්ධාත්මදානය ප්‍රේරිතයන් වෙත ප්‍රදානය කළ බව අපි දනිමු. ශුද්ධාත්ම බලයෙන් පූර්ණ වූ ප්‍රේරිතවරු ජේසුස් වහන්සේගේ උත්ථානය පිළිබඳ ව සාක්ෂි දරමින් ද, බලවත් ලෙස දේශනා කරමින් ද, මනස්ථාපනය වී සිත් හරවාගන්නවුන් ජේසුස් වහන්සේගේ නාමයෙන් බව්තීස්ම - ස්නාපනය කරමින් ද, ලෙඩුන් සුව කරමින් ද, දහස් ගණනින් සෙනග ස්වාමීන් වහන්සේ වෙතට හරවා ගත්හ.

මෙලෙස ජේසුස් වහන්සේගේ උත්ථානය මගින් පුනරුජ්ජීවනය ඇතිවන බව ප්‍රේරිතයන් විසින් ප්‍රකාශ කරනු ලැබීම පූජකයන්ගේ ද, පූජා මූලිකයන්ගේ ද, සද්දුසිවරුන්ගේ ද බලවත් උදහසට හේතු වන්නක් විය. ඒ උන්වහන්සේ කුරුසි පත් කිරීමට ඔවුන් ද දායක වූ හෙයිනි. ලෙඩුන් සුවපත් කිරීම ඇතුළු ප්‍රේරිතයන් විසින් සිදු කරන ලද බොහෝ බලවත් ක්‍රියා නිසා ජනතාව විශාල ලෙස ප්‍රේරිතවරුන් වෙත යොමු වීම ඔවුන්ගේ ඊර්ෂ්‍යාවට හේතු විය.

සුදර්ශන නම් දොරටුව අභියස සිඟමන් යැදි කොරවූ මිනිසා සුවකිරීම පිළිබඳ සිද්ධියේ දී "ඔබ කුමන බලයකින් - කවරෙකුගේ නාමයෙන් මෙය කළහු ද" යි ප්‍රේරිතවරුන් දෙදෙනා මන්ත්‍රණ සභාව මැද සිටුවා කරන ලද විමැසුමට පේදුරු තුමා ශුද්ධාත්මයාණන්ගෙන් පූර්ණ ව සිදු කරන ලද නිර්භීත ප්‍රකාශය අප පසුගිය පාඩමෙන් විමසා බැලීමු.

එහෙත් එදා ප්‍රේරිතවරුන්ගේ බලවත් ක්‍රියා නිසා අදහාගත් මහත් ජනතාවක් සිටි හෙයින් ප්‍රසිද්ධියේ ප්‍රේරිතවරුන්ට දඬුවම් කිරීමට නොහැකි ව "ජේසුස් වහන්සේගේ නාමයෙන් කොහෙත් ම කථා නොකරන මෙන් ද, නූගන්වන මෙන් ද අණ කොට - තර්ජනය කොට ඔවුන් නිදහස් කර යන්නට හැරියෝ ය.

එහෙත් ප්‍රේරිතවරු වඩවඩාත් ශක්තිමත් ව - නිර්භීත ව තම මෙහෙවර බලවත් ලෙස ඉටුකිරීමට වග බලා ගත්හ. මෙලෙස ශුද්ධාත්මයාණන්ගේ නාමයෙන් ප්‍රේරිතයන් විසින් සිදු කෙරෙන අරුම පුදුම දේ අත්දකිමින් සමිඳාණන් වහන්සේ කෙරෙහි අදහාගත් සෙනගට කෙමෙන් තවතවත් අය එකතු වූහ.

මෙනිසා ප්‍රේරිතවරුන් වෙත නැවත නැවතත් පීඩා පැමිණෙන ආකාරයත් ශුද්ධාත්මයාණන් වහන්සේ කරණකොටගෙන ඔවුන් ඒවාට මුහුණ දෙන ආකාරයත් විමසා බලමු.

**විමසා බලමු**

**ක්‍රියා 5 : 12 - 16**

ඉහත ඔබ විසින් විමසා බලන ලද බයිබල් පාඨ වෙතින් ශුද්ධාත්ම වැඩවිසීම තුළ ප්‍රේරිතවරුන්ගේ ක්‍රියා පිළිබඳ ව ගම්‍ය වන කාරණා පහත දැක්වෙන වගුවෙහි වම් පසෙහි දැක්වේ. නැවත එම බයිබල් පාඨ විමසා බලමින් ඒ ඒ කාරණය දැක්වෙන අදාළ බයිබල් පාඨ අංකය/අංක අදාළ කාරණය ඉදිරියෙහි යොදන්න.

| ගම්‍ය වන කාරණය | අදාළ බයිබල් පාඨ අංක/අංකය |
|---|---|
| ★ ප්‍රේරිතවරුන් ගතකළ ආදර්ශවත් දිවි පෙවෙත ද, කරන ලද ලකුණු ද අරුම පුදුම දේ ද දැක ජනයා විසින් ඔවුන් පසසන ලද බව. | .............................................. |
| ★ ශුද්ධාත්ම බලයෙන් පූර්ණ ව ප්‍රේරිතයන් විසින් බොහෝ හාස්කම් සිදුකරන ලද බව. | .............................................. |
| ★ ජෙරුසලමේ පමණක් නොව අවට නුවරවලින් ද, රෝගීන් හා දුෂ්ටාත්මයන්ගෙන් පීඩිත වූවන් සුවය පතා ප්‍රේරිතයන් වෙත ගෙනෙන ලදුව, ඒ සියල්ලන් ම සුවය ලද බව. | .............................................. |
| ★ පේදුරු තුමාගේ සෙවණැල්ල පවා රෝගීන් මත වැටුණු විට සුවය අත්වේ ය යන විශ්වාසයක් ඇදහිලිවතුන් තුළ ඇතිවී තිබූ බව. | .............................................. |
| ★ ශුද්ධාත්ම බලය තුළ කටයුතු කළ ප්‍රේරිතයන්ගේ ක්‍රියා කරණකොටගෙන සමිඳාණන් වහන්සේ අදහාගත් සංඛ්‍යාව ක්‍රම ක්‍රමයෙන් වැඩි වන්නට වූ අතර, එම ජනකාය ස්ත්‍රී - පුරුෂ දෙපක්ෂයෙන් ම සමන්විත වූ බව. | .............................................. |
| ★ ප්‍රේරිතවරුන් එක්සත් ව - එක්සිත් ව ආදර්ශවත් සාමූහික ජීවිතයක් ගත කළ බව. | .............................................. |

එහෙත් "ධර්මිෂ්ඨයන්ට පීඩා බොහෝ ය" යන්න පසක් කරමින්, ස්වාමීන් වහන්සේ වෙනුවෙන් සාක්ෂි දැරීම හා ශුද්ධාත්ම බලයෙන් බොහෝ අරුම පුදුම දේ කළ නිසා ප්‍රේරිතයන් නැවත වරක් පීඩාවලට ලක්වන ආකාරය පහත දැක්වෙන බයිබල් පාඨ විමසා බැලීමෙන් පැහැදිලි වේ.

**විමසා බලමු**
**ක්‍රියා 5 : 17 - 21**

මෙලෙස "දෙවියන් වහන්සේට කීකරු වන අයහට පදානය කර ඇති ශුද්ධාත්මයාණන් වහන්සේ (ක්‍රියා 5:32) විසින් සිරගෙයින් ප්‍රේරිතයන් මුදවාගෙන, ස්වාමීන් වහන්සේගේ **"ජීවන මග"** පිළිබඳ ව සෙනගට ප්‍රකාශ කිරීමේ අවස්ථාව ඔවුන්හට නැවත සලසා දුන් සේක. **ජේසුස් වහන්සේ අප වෙත හෙළිකළ "ජීවන මග" වනුයේ "පසුතැවී, හිත් හරවාගෙන, පව්කමාව ලබා ගැනීම තුළින් දේව දරුකමට ඇතුළු වීමයි.**

ඉන් පසු ව ද ප්‍රේරිතයන්හට කස පහර දී ජේසුස් වහන්සේ ගැන කථා නොකරන්නට අණ කළ ද, ප්‍රේරිතවරු ඒ නාමය උදෙසා නින්දා විඳීමට සිදුවීම ගැන ප්‍රීති වෙමින්, දිනපතා ම දේව මාලිගයේ ද ගෙදරක් පාසා ද ඉගැන්වීමෙහිත්, ජේසුස් වහන්සේ පිළිබඳ සුබ අස්න දේශනා කිරීමෙහිත් නිරත වූ බව සඳහන් වේ. (ක්‍රියා 5:40-42)

එදා ප්‍රේරිතවරු ශුද්ධාත්මදානය ලැබීම තුළ,

- ජේසුස් වහන්සේ විසින් තම ජීවිත පූජාවෙන් අප වෙත හඳුන්වා දෙන ලද "ජීවන මඟ" ලෝකය වෙත ගෙනයෑමේ මෙහෙවර, ප්‍රේරිතයන් විසින් බාරගනු ලැබූ බවත්,
- ස්වාමීන් වහන්සේගේ නාමය දැරීම නිසා විඳින්නට සිදු වූ විවිධ තර්ජන - නින්දා - අපහාස හා ශාරීරික වේදනා, තමන්ට පීඩා නොව භාග්‍යයක් කොට එදා ප්‍රේරිතයින් විසින් සලකන ලද බවත්,
- මනුෂ්‍යයන්ගේ කාරණාවලට නොව දෙවියන් වහන්සේගේ කාරණාවලට ප්‍රමුඛතාව හිමිකර දී ප්‍රේරිතවරුන් එඩිතර ව කටයුතු කළ බවත්, පැහැදිලි වේ.

**ජේසුස් වහන්සේ විසින් එදා ප්‍රේරිතවරුන් වෙත පවරන ලද මෙහෙවරෙහි වගකීම නිතැතින් ම අප වෙත ද පැවරෙන බව පසක් කරගන්න.** එමෙන් ම ඒ උදෙසා එදා ප්‍රේරිතවරුන්හට ස්වාමීන් වහන්සේ විසින් ශුද්ධාත්මයාණන් වහන්සේ මගින් අවශ්‍ය බලය - දිරිය ලබාදුන්නාක් මෙන්, අපහට ද එම ශුද්ධාත්මදානය ලබා දෙන බව විශ්වාස කරන්න. එලෙස ශුද්ධාත්මයාණන් තුළින් ජේසුස් වහන්සේගේ බලය අත්දකින අපි, යැදුමෙන් හා ප්‍රශංසාවෙන් ශුද්ධාත්ම ක්‍රියාකාරීත්වය පිළිබඳ ව සාක්ෂි දැරීමට ද යොමු වෙමු.

**ක්‍රියාකාරකම**

1. සුබාරංචිය ජනතාව වෙත ගෙන යෑමට එදා ප්‍රේරිතවරුන්ට තිබූ අභියෝගයක් පෙන්වා දෙන්න.
2. එවන් අභියෝග අද අප සමාජය තුළ කිතුනුවන්ට ඇත්තේ ද? ඔබේ පිළිතුරට හේතු කෙටියෙන් දක්වන්න.

# 10 දොර්කස් - ශුද්ධාත්ම බලයෙන් යළි ජීවිතය

ක්‍රියා 9 : 36-42

සිසු දරුවන් එදින පන්තියට පිවිසියේ වෙනදාට වඩා උනන්දුවකිනි. පෙර සතියේ පවරන ලද පැවරුමට අනුව ඔවුන් සූදානම් වූ නාට්‍යය ඉදිරිපත් කරන තුරු ඉවසිල්ලක් දරුවන්ට නොවී ය.

ගුරුතුමිය : ආයුබෝවන් දරුවනි.

ළමයි : ආයුබෝවන් ගුරුතුමියනි.

ගුරුතුමිය : මා පසුගිය සතියේ දුන්න පැවරුමට අනුව ක්‍රියා 9 පරිච්ඡේදයේ 36-42 දක්වා බයිබල් කොටස නිර්මාණාත්මක ව ඉදිරිපත් කිරීමට සූදානම් වෙලා ආවා ද?

ළමයි : ඔව්, අපි ලෑස්තියි ඒ කතාව නාට්‍යයක් ආකාරයට ඉදිරිපත් කරන්නට.

ගුරුතුමිය : හොඳයි, එහෙනම් දැන් මේ දරුවන්ට එයට අවස්ථාව ලබා දෙනවා.

(දරුවෝ පෙර සූදානම් වූ ලෙස තම තමාට නියමිත කොටස රඟ දැක්වීම සඳහා ස්ථානගත වූහ.)

පොතේ ගුරු: අද දින මෙලෙසින් - ඔබ වෙත ගෙනෙන සුපුවත නම්;
ජොප්පාවෙහි විසූ - දොර්කස් හෙවත් මුවදෙන අර්ථය ඇති
"තබීතා" නම් කාන්තාව - අත්දුටු පුදුම සහගත සිදුවීම පිළිබඳවයි. - මේ අප සූදානම් - ඇය මුහුණ දුන් එම අත්දැකීම - ඔබ හමුවේ බෙදා ගැනීමටයි.

කාන්තාවක් : අනේ... අනේ... ඉක්මනට එන්න. බලන්න අසනීපයෙන් සිටි තබීතාට වෙලා තිබෙන දෙය. මට නම් මෙය දරා ගන්න බැහැ. ඇය අප දාලා සදහට ම යන්න ගිහිං.

වැන්දඹු කාන්තාවක් : මොනවා! ඇය මැරිලා... අප දාලා ගිහිල්ලා... අයියෝ මේ මොන දුකක් ද අපට වුණේ! ඇය අප සමග සිටිය දී කෙතරම් යහපත් ක්‍රියා කළා ද! කෙතරම් දේ දන් දුන්න ද!

**කාන්තාවක් :** අපට නම් මෙය දරාගත නොහැකියි. අනේ දෙවිඳුනි! අපට පිහිට වුව මැනව.

**වැන්දඹු කාන්තාවක් :** අපි ඉක්මනට මේ බව පේදුරු තුමාට දනුම් දෙමු. ඉක්මන් කරමු. පේදුරු තුමා ඉක්මනින් ගෙන්වා ගනිමු.

**පොතේ ගුරු:** ඔවුහු රෝගී ව මරණයට පත් වූ - තබීතා නම් වූ කාන්තාවගේ දේහය නාවා, උඩුමහලක තැබූහ. - ලිද්දාව ජොප්පාවට සමීප බැවින් පේදුරු එහි සිටින බව දැන. - "පමා නොවී අප වෙත එන්නැයි" අයදිමින් පේදුරුට පණිවුඩයක් යැවූහ. - කී ලෙසට ම පේදුරු එම ස්ථානයට පැමිණ - උඩුමහලට ගමන් කළේ ය.

(කාන්තාවෝ පේදුරු වටා රොක්වී හඬ හඬා දුක් වෙමින් සිටිති.)

**වැන්දඹු කාන්තාවක් :** අනේ පේදුරුතුමනි, ඇය ජීවත් ව සිටිය දී වැන්දඹු අපට මසා දුන් කමිස, කබා මේ බලන්න. ඇය අපට කෙතරම් නම් ආදරය කළා ද?

**කාන්තාවක් :** අනේ ඔව් ඇය අපට කෙතරම් උපකාර කළා ද?

**පොතේගුරු :** මේ සියල්ල අසා සිටි පේදුරුතුමා ඔවුන් සියල්ලන් බැහැර කර තබීතාගේ දේහය ළඟ දණින් වැටී යාච්ඤාවේ යෙදුණේ ය. අනතුරුව ශුද්ධාත්ම බලයෙන් ක්‍රියා කරමින් මෙසේ පැවසී ය.

**පේදුරුතුමා :** "තබීතා නැගිටින්න."

(තබීතා ඇස් ඇර නැගිට පේදුරුතුමා දැක හිඳගනියි.)

**පොතේ ගුරු :** එවිට පේදුරුතුමා - ඇය අතින් අල්ලා නැගිටුවා - සැදැහැවතුන් ද, වැන්දඹුවන් ද කැඳවා - ජීවත් ව සිටි ඇය ඔවුනට භාර දුන්නේ ය. - මේ පුවත ජොප්පාව පුරා ම පැතිර ගියේ ය.

**ගුරුතුමීය :** බොහොම හොඳයි දරුවනි.
ඔබ නාට්‍ය ඉදිරිපත් කරන්නට හොඳට සූදානම් වෙලා පැමිණ තිබෙන බව පෙනෙනවා. දැන් අපි බලමු මේ කතාව තුළින් අපගේ ජීවිතවලට ගත හැකි ආදර්ශ හා අත්දැකීම් මොනවා ද කියලා.

**දයානි :** තබීතා මෙන් අපිත් යහපත් වැඩවල නිරත විය යුතුයි. අන් අයට උපකාර කළ යුතුයි.

**ශ්‍රියානි :** තමාට ඇති හැකියාවෙන් අන් අයගේ ජීවිත ශක්තිමත් කිරීමට යමක් කළ යුතුයි.

**කමනි :** සමාජයේ අසරණ ව සිටින අයට, වැන්දඹු අයට, අවශ්‍යතා ඇති අයට තබීතාට මෙන් අපගේ උපකාර ලබාදිය යුතුයි.

**සුමිත් :** වැන්දඹුවන් එදා සමාජයෙන් ප්‍රතික්ෂේප ව සිටි පිරිසක්. අපගේ අවධානය නිරතුරුව සමාජයෙන් කොන්වූ එවන් අය කෙරෙහි යොමු විය යුතු ය.

**දයානි :** කෙනෙකුගෙ කරදරයක දී එකමුතු ව ක්‍රියා කළ යුතුයි.

**ලාල් :** ශුද්ධාත්මයාණන් වහන්සේගේ බලය පිළිබඳ ව විශ්වාස කළ යුතුයි.

**ගුරුතුමිය :** සියලලන්ගේ ම අදහස් නිවැරැදියි. එසේ ම ලාල්ගේ අදහස මේ අතරින් ඉතා ම වැදගත්. මේ කතාව තුළ තබීතා ජීවත් ව සිටිය දී සිදු කළ යහපත් ක්‍රියා අපට ආදර්ශයක්. ඒ වගේ ම මෙම කතාවෙන් අප වෙත ගෙන එන වැදගත් ම අත්දැකීම වන්නේ ශුද්ධාත්ම ක්‍රියාකාරීත්වය කරණකොටගෙන ඇය මරණින් නැගිටුවනු ලැබීමයි.

## සිතට ගනිමු

මෙලෙස ශුද්ධාත්මයාණන් වහන්සේගේ බලය මරණය අභිබවා ක්‍රියා කරන බව අපි මෙහි දී අත් දකින්නෙමු. ශුද්ධාත්මයාණන් වහන්සේගේ ක්‍රියාකාරිත්වය තුළ බොහෝ අය ශක්තිමත් වූහ. එදා දුර්වල ව සිටි ගෝල පිරිස ශුද්ධාත්ම බලය කරණකොටගෙන මළවුන් නැගිටුවීමට පවා නොබිය ව ඉදිරිපත් වූහ. ඔවුහු ඇදහිල්ලෙන් යුතු ව අවස්ථාවට අනුව ක්‍රියා කළහ. මරණය අභිබවා ක්‍රියා කිරීමට ශුද්ධාත්ම මඟ පෙන්වීම ලබමින් තබීතා නැවත නැගිටුවනු ලැබුවේ එම ඇදහිල්ල තුළ ක්‍රියා කිරීමෙනි.

එදා මෙන් ම අදත් ශුද්ධාත්මයාණන් වහන්සේ ක්‍රියා කිරීම තුළ බොහෝ බලවත් දේ ලෝකයේ සෑම තැනක දී ම, සෑම මොහොතක දී ම සිදු වෙමින් පවතියි. අපගේ ජීවිතවල බලාපොරොත්තු රහිත අවස්ථාවන්හි දී ශුද්ධාත්මයාණන් වහන්සේ මැදිහත් වෙමින් අපට සහනය සැනසුම සලසා දෙන සේක. ඒ පිළිබඳ ව අප ලබන අත්දැකීම් සාක්ෂි ලෙස අන් අය සමග බෙදා ගැනීම ඉතා ම වැදගත් වේ.

**ක්‍රියාකාරකම**

1. ශුද්ධාත්ම මඟපෙන්වීමෙන් ගෝල පිරිස ක්‍රියා කළ මෙවන් වෙනත් අවස්ථා **දෙකක්** ක්‍රියා පොත ඇසුරින් සොයා බලා සඳහන් කරන්න.
2. ශුද්ධාත්ම බලය කරණකොටගෙන ඔබගේ ජීවිතයට සහනය සැනසුම ලද අවස්ථාවක් විස්තර කරන්න.

# 11 ස්තේපන් ශුද්ධාත්ම බලයෙන් මරණයට මුහුණ දීම

ක්‍රියා 7 : 54-60

රෝම අධිරාජ්‍යයේ යටත් රාජ්‍යයක් වූ පලස්තීනය තුළ මුල් කිතුනු සභාවේ ආරම්භය සිදු විය. එහෙයින් රෝම අධිරාජ්‍යයේ පීඩාවන්ට මෙන් ම අන්තවාදී අදහස් දැරූ ජුදෙව්වන්ගේ පීඩාවන්ට ද මුල් කිතුනු සභාවට මුහුණ දීමට සිදු විය. එලෙස මුල් කිතුනු සභාව විවිධ අභියෝගවලට මුහුණ දෙමින් නමුත් ශුද්ධාත්මයාණන් වහන්සේ තුළ සවිමත් වෙමින් දිනෙන් දින වර්ධනය වෙමින් ලෝකය පුරා ව්‍යාප්ත වන්නට විය. එලෙස මුල් කිතුනු සභාව මුහුණ දුන් පීඩා කිහිපයක් මෙසේ ය.

- ★ කිතුනුවන් ජුදා ව්‍යවස්ථාවට අපහාස කරන්නන් ලෙස සැලකීම
- ★ ඔවුන් රෝම අධිරාජ්‍යයට අවනත නොවන පිරිසක් ලෙස සලකා පීඩාවලට ලක් කිරීම
- ★ ක්‍රිස්තුස් වහන්සේගේ නාමයෙන් සාක්ෂි දැරීම තහනම් වීම
- ★ අසාධාරණ අයුරින් නඩු තීන්දු ලබා දීම
- ★ එලෙස සාක්ෂි දරන පුද්ගලයන් සිරභාරයට ගැනීම
- ★ කස පහර ලැබීම වැනි හිංසාකාරී පීඩනවලට ලක්වීම

මෙවැනි පීඩාකාරී පසුබිමක් තුළ පවා නොබිය ව ක්‍රිස්තුස් වහන්සේ වෙනුවෙන් ජීවිතය කැපකරමින් සභාවේ අභිවෘද්ධිය උදෙසා ක්‍රියා කළ පිරිසක් වූහ. මොවුන් අතරින් සභාව වෙනුවෙන් කැපවී ක්‍රියාකර මරණයට පවා මුහුණ දුන් අය වේද සාක්ෂිකයන් ලෙස නම් කරන ලදහ.

එලෙස කිතුනු සභාව වෙනුවෙන් පළමුවෙන් ම තම ජීවිතය පූජා කළ වේදසාක්ෂිකයා වන්නේ ස්තේපන් තුමා ය. මෙතුමා වනාහි ප්‍රේරිතයන් විසින් ගෝල සමූහයා අතරින් උපස්ථායකයන් ලෙස තෝරා පත්කර ගත් විශේෂ පුද්ගලයන් සත්දෙනා අතරින් කෙනෙක් විය. මුල් කිතුනු සභාවේ ශීඝ්‍ර වර්ධනයත් සමග ජේසුස් වහන්සේගේ ගෝලයන් ඉතා ම කාර්ය බහුල වූයෙන් සභාවේ සහනාධාර බෙදා දීම වැනි ශුභසාධන කටයුතු සඳහා මෙලෙස උපස්ථායකයින් සත් දෙනෙක් පත්කර ගන්නා ලදහ. මෙහි දී ස්තේපන් ප්‍රධාන තැනක් ගෙන ක්‍රියා කළ අතර ඔහු සතු වූ සුවිශේෂ ගුණාංග කිහිපයක් හඳුනාගත හැකි ය.

* පොදුවේ සැම දෙනෙකු විසින් ම ඔහු යහපත් පුද්ගලයෙකු ලෙස පිළගනු ලැබූ තැනැත්තෙකු වීම
* ශුද්ධාත්මයාණන්ගෙන් පූර්ණ ව ක්‍රියාකළ පුද්ගලයෙකු වීම
* ප්‍රඥාවෙන් යුතු ව ක්‍රියා කළ පුද්ගලයකු වීම
* ස්ථිර ඇදහිල්ලකින් ක්‍රියා කළ පුද්ගලයෙකු වීම

මුල් කිතුනු සභාව වෙනුවෙන් තම ජීවිතය කැප කළා වූ ස්තේපන් දේව වරප්‍රසාදයෙන් ද දේව ආනුභාවයෙන් ද පූර්ණ ව මහත් ලකුණු හා අරුම පුදුම දේ ජනතාව අතර සිදු කළ බව අපෝස්තුළුවරුන්ගේ ක්‍රියා පොත (ක්‍රියා 6:8) අපට පෙන්වා දෙයි.

දක්ෂ කථිකයෙකු වූ ස්තේපන්ගේ ප්‍රඥාව හා ශුද්ධාත්ම බලය අභිබවා නැගී සිටීමට එදා සිටි ජුදා නායක පූජකයන්ට නොහැකි විය. මේ නිසා දෙවියන් වහන්සේට හා මෝසෙස්ට අපහාස කරතැ'යි චෝදනා කොට ඔහු අත් අඩංගුවට ගනු ලැබී ය. අනතුරුව ජනතාව ද, පූජා මුලිකයන් හා විනයධරයන් ද ඔහුට විරුද්ධව උසිගන්වා බොරු සාක්ෂිකාරයන් ද සමග ඔහු මන්ත්‍රණ සභාව ඉදිරියට පමුණුවනු ලැබී ය. ජුදා මන්ත්‍රණ සභාව ඉදිරියේ ඔහුට විරුද්ධ ව චෝදනා විභාගයට ගැනීමේ දී ඔහුගේ මුහුණ දේව දූතයකු මෙන් දිස් වූ බව ක්‍රියා 6:15 හි සඳහන් වේ.

**විමසා බලමු**
**ක්‍රියා 7 : 54 - 60**



**ස්තේපන්තුමාගෙන් අපගේ දිවියට......**

★ **නිර්භීත ව සාක්ෂි දැරීමටත් නිවැරැදි කිරීමටත් යොමු වෙමු**

ශුද්ධාත්මයාණන්ගෙන් පූර්ණ වූ ස්තේපන් නොබිය ව එදා ජුදෙව්වරුන් ගමන් කළ මාර්ගය නිවැරැදි කිරීමට උත්සාහ කළේ ය. දෙවියන් වහන්සේගේ පුත්‍රයා වන ජේසුස් වහන්සේ වෙනුවෙන් සාක්ෂි දැරුවේ ය. එසේ ම අපි ද ක්‍රිස්තුස් වහන්සේ වෙනුවෙන් සාක්ෂි දැරීමට ද අන් අය යහ මඟට යොමු කිරීමට ද යොමු වෙමු.

★ **ශුද්ධාත්ම මඟපෙන්වීම ඔස්සේ ගමන් කරමු**

ස්තේපන් තමන් මුහුණ දුන් පීඩා අබියස ශුද්ධාත්මයාණන්ගෙන් පූර්ණ ව ස්වර්ගය දෙස බැලුවේ ය. එහි දී ස්තේපන්ට ස්වර්ග දර්ශන දැක ගැනීමටත් දෙවියන් වහන්සේගේ තේජශ්‍රීය දැක ගැනීමේ භාග්‍යයත් උදා විය. එසේ ම අපගේ පීඩා හමුවේ අප ශුද්ධාත්මයාණන් වහන්සේගේ මගපෙන්වීම කෙරෙහි පූර්ණ විශ්වාසය තබමින් එම මඟපෙන්වීම අනුව ක්‍රියා කිරීමට උත්සාහ දරමු.

★ **ස්වර්ගික හඬට සවන් දෙමු**

ස්තේපන්ගේ ජීවිතයේ අවසාන මොහොතේ අත්දැකීම්, "ස්වර්ගය මිනිසා වෙත විවර වූ අවස්ථාවක්" ලෙස අත්දැකීමට අපට ද හැකි වේ. එහෙත් එදා ස්තේපන් අත්දුටු ස්වර්ගික දර්ශනය ඔහු විසින් ප්‍රකාශ කරනු ලැබුව ද එම හඬට සවන් දීම ප්‍රතික්ෂේප කරමින් ජුදා මන්ත්‍රණ සභාව තුළ රැස් ව සිටි පිරිස ඔවුන්ගේ කන් වසා ගත්තෝ ය. ලෝකයේ විවිධ ලෞකික දෙයට වහල් වන අපි දෙවියන් වහන්සේගේ හඬට සවන් නොදෙන්නෙමු. එහෙත් අපගේ ජීවිතයේ සියල්ලේ දී ප්‍රමුඛතාව දෙවියන් වහන්සේට හිමිකර දෙමින් දෙවියන් වහන්සේගේ කැමැත්තට අවනත ව ක්‍රියා කිරීම වැදගත් වේ.

★ **දේව කැමැත්ත හඳුනාගෙන එය ජීවිතයට අදාළ කර ගනිමු**

ස්තේපන් විසින් ශුද්ධාත්මයෙන් පූර්ණ ව සිදු කළ දේශනාව ජුදා මන්ත්‍රණ සභාවට දරා ගැනීමට නොහැකි විය. එම නිසා ඔවුන්ට නිවැරැදි දෙය කුමක් ද කියා වටහා ගැනීමට ද නොහැකි විය. එදා ස්තේපන් තම දේශනයෙන් ප්‍රකාශ කළ අදහස් අවබෝධ කර ගැනීමට ඔවුන්ට ශක්තියක් නොතිබුණේ ඔවුන් නපුරට යටත් ව ක්‍රියාකළ නිසා ය. එසේ ම අපි ද නපුරට යටත් ව සිටින විට දී ශුද්ධාත්මයාණන් විසින් ගෙනෙනු ලබන පණිවුඩය නොසලකා හරින්නෙමු; ප්‍රතික්ෂේප කරන්නෙමු. එබැවින් අන් අය මගින් ගෙන එනු ලබන දේව පණිවුඩයට සවන් දීමටත් ඒවා ජීවිතයට අදාළ කර ගැනීමටත් සූදානම් ව සිටිමු.

★ **සදාතන ජීවිතය ජයගැනීමට උත්සාහ කරමු**

කිතුනු ජීවිතයේ ජයග්‍රහණය යනු ලෞකික ජීවිතයේ දී මනුෂ්‍යයා සිතන පතන ජයග්‍රහණ අභිබවා යන ක්‍රියාදාමයකි. එය මරණය පවා අභිබවා යන ස්වාර්ගික ජයග්‍රහණයකි. එම නිසා ස්තේපන් තුමා මරණයේ පීඩා අභියස, යාච්ඤාවෙන් යුතු ව ස්වර්ගය දෙස දෑස් ඔසවා සිටියේ ස්වාර්ගික ජීවිතය ජය ගැනීමේ බලාපොරොත්තුවෙනි. මේ ලෝකයේ ජීවිතය තාවකාලික වන අතර සදාතන ස්වර්ගීය ජීවිතය ළඟාකර ගැනීමට අපි උත්සාහ කරමු.

★ **පීඩාකාරී අවස්ථාවල දී යාච්ඤා කරමු**

ස්තේපන් තුමා මරණයේ පීඩා අභියස දී පවා දෙවියන් වහන්සේට යාච්ඤා කළේ ය. අපි ද එසේ ම ජීවිතයේ දුක් පීඩා ගැටලු සියල්ල දෙවියන් වහන්සේට බාර දීමට ක්‍රියා කරමු. අප වෙත පැමිණෙන පීඩා ඉදිරියේ විශ්වාසයෙන් හා ඇදහිල්ලෙන් ක්‍රියා කරමු.

★ **සතුරන්ට සමාව ලබා දෙමු**

ජේසුස් වහන්සේගේ සැබෑ අනුගාමිකයකු වූ ස්තේපන් තුමා කුරුසියේ දී ජේසුස් වහන්සේ තම සතුරන්ට සමාව දුන්නාක් මෙන් තමාට පීඩා කළ අයට සමාව දුන්නේ ය. එලෙස අපට විරුද්ධ ව විවිධ පීඩා කරන අයට අපගේ හදපතුලෙන් ම සමාව දීමට යොමු වෙමු. ස්තේපන් තුමාගේ අවසාන ප්‍රකාශය වූයේ තමන්ට පීඩා කළ සතුරන් වෙනුවෙන් යාච්ඤා කිරීමයි. අප ද අපට පීඩාකරන්නන් වෙනුවෙන් යාච්ඤා කිරීම ද වැදගත් වේ.

ස්තේපන් තුමාට සියලු අභියෝග මැද ධෛර්යයෙන් යුතු ව ක්‍රියා කිරීමට හැකි වූයේ එතුමා ශුද්ධාත්මයාණන්ගෙන් සවිමත් ව ක්‍රියා කළ නිසා ය. කිතුනුවන් ලෙස අප ද අප වෙත පැමිණෙන සියලු බාධක අභියෝග ශුදධාත්මයාණන් වහන්සේගේ මඟපෙන්වීම තුළ ජයගැනීමට යොමු වෙමු.

**ක්‍රියාකාරකම**

1. ස්තේපන් තුමාගේ චරිතයෙන් ඔබේ ජීවිතයට ලැබෙන මඟපෙන්වීම් **තුනක්** විස්තර කරන්න.
2. යාච්ඤාව හා ශුද්ධාත්ම මඟපෙන්වීම තුළ ජීවිතයේ අභියෝගවලට මුහුණ දිය හැකි බව ඔබ විශ්වාස කරන්නේ ද? ඔබගේ අත්දැකීමක් සාක්ෂියක් ලෙස බෙදා ගන්න.

# 12 සාවුල් ශුද්ධාත්ම බලයෙන් එඩිතර මෙහෙවරක

ක්‍රියා 9 : 19-25

මුල් කිතුනු සභාවට විවිධ අභියෝගවලට මුහුණ දීමට සිදු වූ ආකාරයත්, එහි ප්‍රතිඵලයක් ලෙස වේදසාක්ෂික ස්තේපන් ගල්ගසා මරණයට පත් කරන ලද ආකාරයත් අප පෙර පාඩමෙන් විමසා බැලීමු.

දේව කැඳවීම මහිමාන්විත ය. ඒ සඳහා වන ශුද්ධාත්ම දිරිගැන්වීම විස්මිත ය. යම් කෙනෙකු වෙත දේව කැඳවීම දෙනු ලබන්නේ ද, ඔහු හෝ ඇය නැතහොත් එම සමූහයා ශුද්ධාත්ම දිරියෙන් හා සවියෙන් පූර්ණ කරනු ලබන්නේ ය. මෙලෙස සභාව දිනපතා ශුද්ධාත්මයාණන් තුළ යාච්ඤාවෙන් බල ගැන්වී වර්ධනය වන්නට විය. එලෙසින් ම කිතුනු සභාවට ජුදා ආගමෙන් ඇති වූ බාධක හා අභියෝග දිනපතා තවතවත් උග්‍ර වන්නට විය.
ඔවුහු කිතුනු ප්‍රේරිතයන් පීඩාවට පත් කළහ.
ප්‍රේරිතයන් මන්ත්‍රණ සභාව වෙත ගෙන ගියහ.
ඔවුන් අල්ලා පොදු හිරගෙයි දැමූහ.
කිතුනු ප්‍රේරිතයන්ට ගල් ගසා මරා දැමූහ.
සභාව වැනසීමට උත්සාහ දැරූහ.

මෙලෙස කිතුනු සභාව වැනසීමේ ව්‍යාපාරයට වඩාත් අනුගත ව හා කැපවීමෙන් කටයුතු කළ විශේෂ ජුදෙව්වෙකු පිළිබඳ ව ක්‍රියා පොතෙහි සඳහන් වේ. ඒ සාවුල් නම් ජුදෙව් මතධාරී පරිසිවරයා ය.

ස්තේපන්ට ගල් ගැසූ තරුණයන්ගේ ඇඳුම් රැකබලා ගැනීමේ වගකීම දැරූ පුද්ගලයා වූයේ ද මොහු ය. (ක්‍රියා 7:5) කිතුනු ගෙවල්වලට කඩාපැන කිතුනු පුරුෂයන් හා ස්ත්‍රීන් අත් අඩංගුවට ගැනීමට නායකත්වය දෙනු ලැබුවේ ද මොහු ය. (ක්‍රියා 8:3)

ඒ සඳහා දිනක් ඔහු දමස්කයට යන අතරතුර දී,

- ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ ඔහුට සම්මුඛ විය.
- උන්වහන්සේගේ හඬ ඔහුට ඇසිණි.
- උන්වහන්සේගේ ආලෝකපනය ඔහු අත් දැක්කේ ය.

- කළ යුතු දේ පිළිබඳ ව ඔහු දේව උපදෙස් ලැබුවේ ය.
- ඔහුට නව ජීවිතයකට මඟ පැදිණි.
- ඔහු ශුද්ධාත්ම දිරියෙන් හා සවියෙන් බල ගන්වනු ලැබී ය.
- ඉන් අනතුරුව ශුද්ධාත්මයාණන් වහන්සේගේ බලය ක්‍රියාත්මක වීම සඳහා ඔහු මග සැදුවේ ය.

මෙතෙක් කිතුනු සභාවේ පීඩකයා ලෙස නම් දරා සිටි සාවුල් දමස්කයේ දී නව ජීවිත අත්දැකීමකට මුහුණ දුන් පසු කිතුනු සභා ශ්‍රාවකයන් වෙත යෑමට ඔහුට හැකි විය. ඔවුන් තමා කෙසේ පිළිගනී ද? තමාගේ පෙර ජීවිතය ඔවුන් හා එක් වීමට බාධකයක් වේ ද? යන අභියෝග ජයගෙන දේව ක්‍රියාකාරීත්වයට නතු වීමට ශුද්ධාත්ම දිරිය තුළ සාවුල්ට හැකි විය. ශුද්ධාත්ම බලයෙන් දිරිමත් වන විට, දෙවියන් වහන්සේගේ කැමැත්තට අනුකූල වන ලෙස උන්වහන්සේ අන් අයගේ සිතිවිලි පවා වෙනස් කොට, දේව මෙහෙවරට මඟ සාදන බව මින් පැහැදිලි වේ.

ඉහත සඳහන් කළ පරිදි දමස්කයේ ධර්මශාලාවල දේශනා කිරීම සඳහා යොමුවීම, සාවුල් ශුද්ධාත්ම දිරිය තුළ බලගැන්වුණු බවට ප්‍රථම සාක්ෂිය වේ. සාවුල් නොබිය ව, නිර්භීත ව ධර්මශාලාවලට යමින් ***ජේසුස් වහන්සේ දෙවියන් වහන්සේගේ පුත්‍රයා බව ප්‍රකාශ කළේ ය.*** තව තවත් බලසම්පන්න ව ***ඒ ජේසුස් වහන්සේ ක්‍රිස්තුස් වහන්සේ ම යැයි සනාථ කරමින් දේශනා කළේ ය.***

මෙලෙස ශුද්ධාත්ම දිරිය හා සවිය ලැබූ කල;

- හදවතින් ම ජේසුස් වහන්සේ පිළිගැනීමට
- දෙවියන් වහන්සේ තුළ එඩිතර වීමට
- විශ්වාසයෙන් දෙවියන් වහන්සේ තුළ සාක්ෂි දැරීමට
- දේව ක්‍රියාකාරීත්වය පිළිබඳ ව අන්‍යයන් ඇදහිල්ලෙන් ශක්තිමත් කිරීමට අපට හැකියාව ලැබේ.

සාවුල් තමා අත්දුටු සත්‍යතා නොබිය ව එළිදක්වමින් ශුද්ධාත්ම දිරිය හා සවිය තුළ ක්‍රියාකරන විට ඔහුට ජීවිත අභියෝගවලට මුහුණ දීමට සිදු වූ බව පැහැදිලි වේ.

කලක් ගත වූ පසු ජුදෙව්වරු ඔහු මැරීමට කුමන්ත්‍රණ කළ නමුත් ශුද්ධාත්ම රැකවරණය දිරිය හා සවිය ඔහුට නොඅඩු ව ලැබිණ. මෙහි දී ඔහුගේ ශ්‍රාවකයෝ සාවුල්ගේ දිවි රැක ගැනීමට කටයුතු කළහ.

අප දේව මඟපෙන්වීම ලැබ දේව කැඳවීමට යටත් වන විට, එහි දී මුහුණ දීමට සිදුවන අභියෝග ජයගැනීම සඳහා ශුද්ධාත්මයාණන් වහන්සේ දිරිය හා සවිය අප වෙත ගෙන දෙන සේක.

එමෙන් ම එම අභියෝගවල දී උපකාර කිරීම සඳහා බොහෝ අය යොමු කරවන සේක.

**ක්‍රියාකාරකම**

1. සාවුල් වැනි පුද්ගලයෙකු දේව මෙහෙවර උදෙසා කැඳවීම තුළ ඔබගේ කිතුනු දිවියට කවර අත්දැකීම් එකතු කරගතු හැකි වන්නේ ද?

# 13 දෙවිඳුන් තුළ නිවැරදි දිවියක්

**හිතෝපදේශ 20 : 1, 21 : 5-7 ධර්මදේශකයා 11 : 09-12**
**ගලාති 5 : 19-21, 1 කොරින්ති 10 : 31-32**

කිතු සමිඳුන්ගේ දරුවන් වන අප, බාහිර සමාජයේ දී යහපත - අයහපත මැනවින් හඳුනාගෙන, යහපතට ඇලුම් ව ජීවත් වීම සමිඳාණන් වහන්සේගේ කැමැත්ත වේ. සමාජයේ බොහෝ විෂම පැවතුම් ඇතත් නිවැරදි දෙය තෝරා ගැනීමට දේව මග පෙන්වීම සෙවීම කිතුනු දරුවකු වන ඔබගේ යුතුකමක් මෙන් ම වගකීමක් ද වේ.

ලෝකය ඉදිරියෙහි නිවැරදි හෝ යහපත් හෝ යැයි සිතන දේ දෙවියන් වහන්සේ ඉදිරියේ දී ද නිවැරදි ද, යහපත් ද යන්න අවබෝධ කර ගැනීමට හැකි වනුයේ දේව වචනය මැනවින් හැදෑරීමෙන් පමණි.

දේව වචනය මාංසික තෘෂ්ණා පිළිබඳ ව සඳහන් කරයි. මාංසික තෘෂ්ණා හඳුනා ගැනීම තරුණ වියට පා තැබීමට සූදානමින් සිටින ඔබට ඉතා වැදගත් වන්නේ ය.




ඉහත ඉදිරිපත් කළ මාංසික තෘෂ්ණා අතරින් බීමත්කම අද සමාජය වෙළාගත් මහත් ව්‍යසනයක් බවට පත් ව ඇති බව නොරහසකි. බීමත්කම වටිනා ජීවිත විනාශ කරන අතර එය තම පවුලේ අසහනයට මෙන් ම සමස්ත සමාජයේ පිරිහීමට ද හේතු වේ.

බීමත්කම පිළිබඳ ව දේව වචනයේ මෙලෙස සඳහන් වේ.

> *"මද්‍ය පානය කේලාම්කරුවෙකි*
> *සුරා පානය කලහකරුවෙකි*
> *බීමත්කමට මුලාවන්නා මෝඩයෙකි."*
>
> *(හිතෝපදේශ 20:1)*

මත්පැන් පානය කරන්නකුගේ ස්වභාවය පිළිබඳ ව දේව වචනයේ සඳහන් මෙම කාරණා සත්‍ය බව බීමත් පුද්ගලයින් නිරීක්ෂණය කර බලන කල ඔබට ද වැටහෙනු ඇත. බීමත්කමෙන් ඔවුහු;

- ★ තමන් කරන දේ නොදැන බොහෝ විට කලහකාරී ලෙස හැසිරෙති.
- ★ මුදල් නාස්ති කරති.
- ★ තම ප්‍රශ්න හා ගැටලුවලට සහනයක් ලැබීමට උත්සාහ කළ ද සිදුවන්නේ අසහනය තව තවත් වැඩිවීම නිසා ප්‍රශ්න තව තවත් සංකීර්ණ කර ගනිති.
- ★ සිතුවිලි පාලනය ව්‍යාකූල වී නොකළ යුතු දේ කිරීමටත් නොකිය යුතු දේ කීමටත් පෙලඹී අනපේක්ෂිත ගැටලුවලට මුහුණ පාති.
- ★ තම පවුලේත්, අසල්වැසියන්ගේත් සමස්ත සමාජයේත් සතුට සැනසීම නැති කරති.
- ★ අන් අය ඉදිරියේ අසරණ භාවයට හා අපහාසයට ලක්වෙති.
- ★ තම පවුලේ අය ද ලැජ්ජාවට පත් කරති.
- ★ අක්මාවේ ඇතිවන සිරෝසිස් රෝගය, හෘදයාබාධ, අංශභාගය, ස්නායු රෝග, විටමින් ඌනතාව වැනි රෝගවලට ගොදුරු වෙති.
- ★ බීමත්කමේ අනිසි ප්‍රතිඵල ලෙස මද්‍යසාර නොගත් අයට ද පීඩා ගෙන දෙති.
- ★ දේව ස්වභාවය විනාශ වී යාමට මග පාදා ගනිති.

බීමත්කම නිසා මෙලෙස තම ජීවිතය මෙන් ම අන් අයගේ ජීවිත ද විනාශයට හා අසහනයට පත්වන බව ඔබට දැන් වැටහෙනවා ඇත.

සමහර අවස්ථාවන්හි දී අප ජීවත්වන පවුල් පරිසරයේ ද මෙවන් තත්ත්වයන්ට මුහුණ දෙන අය සිටිය හැකි ය. ඔවුන් ඉන් මුදවා ගැනීම පිණිස පවුලේ යාච්ඤාව අවස්ථාවේ දී හෝ සුදුසු මොහොතක දී හෝ බීමත්කම නිසා අත්වන පල විපාක පිළිබඳ දේව වචනයේ සඳහන් දේ ඔබට ප්‍රකාශ කළ හැකි වේ.

බීමත්කම නිසා ඇති වන අහිතකර තත්ත්ව පිළිබඳ ව පන්තියේ එකිනෙකා සමග අදහස් හුවමාරු කර ගනිමින්, සමාජය ඉන් මුදවා ගැනීමට ගත හැකි පියවර පිළිබඳ ව විමසා බලන්න.

ඇතැම් පුද්ගලයෝ උපයන ආදායම තම පවුලේ අවශ්‍යතා සඳහා නොව බීමත්කමට, සුරා සූදුවට හා තවත් එවන් වැරැදිවලට නාස්ති කරති. කෙමෙන් ඒවාට ඇබ්බැහි වී අත්හළ නොහැකි තත්ත්වයට පත් වූ විට මුදල් ඉපැයීමට විවිධ අනියම් ක්‍රියා මාර්ග අනුගමනය කරති. ඒ අතර විශේෂයෙන් හොරකමට, වංචාවට, සූදුවට යොමු වීම සිදු වෙයි.

සූදුවට යොමු වීමෙන් ක්ෂණික ලාබ අපේක්ෂා කරන ඔහුගේ පිරිහීම ද එපමණට ම ඉක්මන් වන බව දේව වචනය අපට පසක් කර දෙයි. වෙහෙස නොවී මුදල් ඉපයීමට යාම මායාවකි. සූදුවට යොමුවීම විනාශයට හේතු වේ. සූදුව පිටු දැකීම පිළිබඳ ව දේව වචනයේ සඳහන් දේ අධ්‍යයනය කරමු.

*"හිතා මතා ක්‍රියාශීලී ව වැඩ කරන මිනිසාට සමෘද්ධිය නියත ය.*
*ඉක්මන්කාර මිනිසාට දිළිඳුකම සිකුරු ය.*
*වංචාවෙන් පොහොසත් වන මිනිසාගේ වස්තුව*
*මීදුමක් සේ පහ ව යයි.*
*ඔහු මරණයේ මළපත්වල ද පැටලේ.*
*යුක්තිය කරන්න අකමැති නිසා දුෂ්ටයෝ*
*තමන්ගේ ම අපරාධවලින් වැනසෙති.*

*හිතෝපදේශ* 21 : 5 - 7

ඉහත දෙව් වදනට අනුව අප;

- ජීවිතයේ සමෘද්ධිය අත්කර ගැනීමට නම් සැලසුම් සහගත ව කාර්යක්ෂම ව වැඩ කිරීමත්,
- අයුතු කෙටිකාලීන ලාභ අපේක්ෂා නොකිරීමත්,
- සූදුව සම්පූර්ණයෙන් පිටු දැකීමත්,
- යුක්තිය ඉටු කරමින් ජීවත් වීමත්, අවශ්‍ය වේ.

මෙලෙස සදාචාරාත්මක යහපත් ජීවිත පැවැත්මක් තුළ අපට දේව කරුණාවත්, සමෘද්ධිය හා සැනසීමත් හිමි වන බව නියත ය.

තව ද අප වරදට යොමු නොවී යොවුන් වියේ දී ම දෙවියන් වහන්සේගේ මග පෙන්වීම සොයමින් කඩිසර ව ක්‍රියා කරන දරුවන් විය යුතු බව ධර්මදේශකයා පොතේ 11:9 හා 12:1 මෙලෙස සඳහන් වේ.

"තරුණය, ඔබේ යොවුන් වියේ දී ප්‍රීති වන්න. ඔබේ යෞවන දවස්වල ඔබට සිත් සතොස ලැබේවා! ඔබට රිසි යයි පෙනෙන පරිද්දෙන් ඔබ හැසිරෙන්න. එහෙත් මේ සියල්ල ගැන දෙවියන් වහන්සේ ඔබ විනිශ්චයට පමුණුවන බව දැනගන්න."

ධර්මදේශකයා 11 : 9

"විපත්ති දවස් පැමිණෙන්නට පෙර ඔබේ යොවුන් වියේ දී ඔබේ මැවුම්කාර දෙවියන් වහන්සේ සිහි කරන්න. මන්ද ඒවා ප්‍රිය නැතැයි ඔබ කියන දවස් උදා වන්නේ ය.

ධර්මදේශකයා 12 : 1

මෙලෙස දේව වචනයේ සඳහන් දෙව් වදන් පිළිපදිමින් ජීවත් වීම කිතුනු දරුවන් වන අපගේ වගකීම වේ. ඒ පිළිබඳ ව 1 කොරින්ති 10:31 හි සඳහන් වන්නේ "**සියල්ල දේව ගෞරවය උදෙසා කළ යුතු බව ය**"

තරුණ වියේ ජීවත් වන ඔබ සියල්ලේ දී විමසා බැලිය යුතු වන්නේ ඔබට රිසි දේ නොව දේව කැමැත්තට අනුකූල බවයි. අප අපට රිසි දේ කරන කල තෘප්තියත් ලෝකයා සතුටු කළ හැකි දේ කරන කල සමාජය තුළ ඇගයීමට ලක්වීමත් සිදු වුව ද දිනෙක දෙවියන් වහන්සේගේ විනිශ්චයට අප ලක්වන බව ද සිහි තබා ගත යුතු වේ.

තරුණ වියේ දී අපි අපගේ ශක්ති ප්‍රමාණයෙන් ස්වාමීන් වහන්සේගේ රාජ්‍යයේ මෙහෙවර උදෙසා ශ්‍රමය, කාලය, ධනය, බුද්ධිය මෙහෙයවා කටයුතු කළ යුතු වෙමු. මෙලෙස නිසි කල නිසි දේ නිසි ලෙස ක්‍රියාවට නැංවීම යෝග්‍ය වේ.

අපගේ ක්‍රියාව
අපගේ කථාව
අපගේ සිතුවිලි

යන සියල්ල යහපත් කර ගනිමින් සියල්ල දේව ගෞරවය උදෙසා ම පමණක් කැප කළ යුතු වෙමු.

සිතට ගන්න.

- ★ සදාචාරාත්මක සමාජයක් ගොඩ නැඟීමට එහි සාමාජිකයන් වන අපගේ වගකීම මැනවින් ඉටු කිරීම දේව අභිප්‍රාය ඉටු කිරීමක් ම බව මතක තබා ගනිමු.
- ★ එසේ සදාචාරාත්මක සමාජයක් ගොඩ නැඟීමට අපත් ජීවිතාදර්ශයෙන් දායක වෙමින් යහපත් පැවැත්මෙන් යුතු දිවි පෙවෙතක් ගත කිරීමට අදිටන් කර ගනිමු.
- ★ කිතුනු දරුවන් සේ සමාජයේ යහපත් හා නිවැරැදි දේ පමණක් ක්‍රියාවට නංවමු.

**ක්‍රියාකාරකම**

1. බීමත්කම නිසා ඇති වන අයහපත් ප්‍රතිඵල **දෙකක්** සඳහන් කරන්න.
2. මාංසික තෘෂ්ණා **හතරක්** ලියා ඒවා අත්හැරීමට ගත හැකි පියවර ලියන්න.

# 14 දෙවිඳුන් තුළ නිවැරදි දැක්මක්

හිතෝපදේශ 2 : 6-10, 3 : 21    එපීස 5 : 15-17
කොලොස්සි 3 : 5-7,    1 තෙසලෝනික 4 : 2-8

"**නව තාක්ෂණය**" යන වචන එදින පාඩම ආරම්භයේ දී ම ගුරුතුමිය හුනු පුවරුවේ සටහන් කළා ය. විෂයයට අදාළ නොවන මාතෘකා ක්‍රිස්තියානි ධර්මය විෂයය උගන්වන ගුරුතුමිය විසින් මෙදින හඳුන්වා දෙනු ලැබීම පන්තියේ අප කාගෙත් කුතුහලය දනවන්නක් විය. ඒ බව තමන් ද පසක් කරගත් බව හඟවමින් පන්තිය සිසාරා බැලූ ගුරුතුමිය තම හඬ මෙලෙස අවදි කළා ය.

ගුරුතුමිය : දරුවනි, මෙලොව සැම සිදුවීමක් ම, සැම නිර්මාණයක් ම, සිදු වන්නේ දේව කැමැත්තටත් දේව සැලැස්මටත් අනුකූල ව බව කිතුනු අපගේ විශ්වාසයයි. අප අද විමසා බලන්නට යන්නේ "**නව තාක්ෂණය**" යටතේ ලොවට හඳුන්වා දී ඇති අප පරිහරණය කරන මෙවලම් දේව කැමැත්තට අනුකූල ව කෙලෙස පරිහරණය කළ යුතු ද යන්නයි.

මෙලෙස දිනට නියමිත පාඩම හඳුන්වා දුන් ගුරුතුමිය පංතියේ සිසුන්, කණ්ඩායම් තුනකට බෙදා ඒ ඒ කණ්ඩායමට මාතෘකාව බැගින් බෙදා දුන්නා ය. සැම කණ්ඩායමක් ම අදාළ මාතෘකාව ගැන සාකච්ඡා කර නියමිත කාලය තුළ වාර්තාවක් පිළියෙල කළ යුතු වූ අතර, කණ්ඩායම විසින් තෝරාගනු ලබන නායකයා විසින් එය පංතියට ඉදිරිපත් කළ යුතු බවට ද උපදෙස් දුන්නා ය.

ඒ ඒ කණ්ඩායම විසින් ඉතා උනන්දුවෙන් සකස් කරන ලද වාර්තා අපි දැන් විමසා බලමු.

1 වන කණ්ඩායමේ නායක : අපට ලැබුණු මාතෘකාව හිතෝපදේශ 2:6-10 හි දක්වා ඇති දෙව් වදන් ඇසුරින් "**නව තාක්ෂණයේ දියුණුවක් ලෙස ලද ජංගම දුරකථනය නිවැරැදි ව භාවිත කළ හැකි ආකාරය**" පිළිබඳ ව සාකච්ඡා කොට නිර්මාණාත්මක ලිපියක් ඉදිරිපත් කිරීමයි. මා දැන් ඒ ලිපිය ඔබ හමුවේ කියවනවා.

## නව තාක්ෂණය හා දේව සැලසුම

නව තාක්ෂණයේ දියුණුව සම්බන්ධයෙන් කිතුනු දැක්මට අනුව දේව වචනයේ සඳහන් කරුණු පිළිබඳ ව අපි අපගේ අවධානය මෙලෙස යොමු කරමු.

"ප්‍රඥාව සමිඳුන්ගේ" දීමනාවකි.
දැනුම හා ඥානය පහල වන්නේ සමිඳුන්ගේ මුවිනි. සමිඳාණෝ අවංකවූවන්හට නියම ප්‍රඥාව දෙන සේක.
සත්‍යවාදි අයට එතුමාණෝ පලිහක් වන සේක.
සමිඳාණෝ යුක්ති මාවත ආරක්ෂා කරන සේක.
බැතිමතුන්ගේ මාර්ගය රැකවල් කරන සේක.
මෙසේ ඔබ, දැහැමිකම ද යුක්තිය ද සත්‍යවාදී බව ද යන සියලු
යහ මඟ තේරුම් ගන්නෙහි ය.
ප්‍රඥාව ඔබේ මනසට පිවිසෙයි.
දැනුම ඔබේ සිතට ප්‍රීතිය ගෙන දෙයි.

හිතෝපදේශ 2:6-10

තාක්ෂණයේ නව මංපෙත් කරා පිවිසීමට මිනිසාට ලබා දී තිබෙන දැනුම හා ඥානය සමිඳුන්ගේ දීමනාවක් බවත් අවංක අයට නියම ප්‍රඥාව හිමි වන බවත් එතුමාණෝ අපට පවසති. එම දීමනාව ලද අප සත්‍යවාදී ලෙස යහමග තේරුම්ගෙන කටයුතු කළ යුතු බව ද දැක්වේ. එදිනෙදා ජීවිත පැවැත්මේ පහසුව පිණිස භාවිත කිරීමට යොදා ගෙන ඇති බොහෝ තාක්ෂණික මෙවලම් අතරින් ජංගම දූරකථනය පිළිබඳ ව මෙම ලිපියෙන් විශේෂිත ව අදහස් බෙදා ගැනීමට කැමැත්තෙමු.

සන්නිවේදන තාක්ෂණ දියුණුවේ නව මංපෙත් විවර කරමින් ජංගම දූරකථන භාවිතය අද පෙරමුණ ගෙන ඇත. එක් ප්‍රදේශයක සිට තවත් ප්‍රදේශයකට ද පුද්ගල කණ්ඩායම් අතර මෙන් ම එක් රටක සිට තවත් රටක් දක්වා ද එකිනෙකාගේ සන්නිවේදන අවශ්‍යතා මෙමගින් ඉටුකර ගැනීමේ පහසුව උදා වී ඇත. මේ මගින් ඉතා කාර්යක්ෂම ලෙස පෞද්ගලික සම්බන්ධතා පවත්වා ගනිමින් මිත්‍රත්වය ගොඩනගා ගැනීමට ද තොරතුරු හුවමාරුවට ද දරුවන්ගේ ආරක්ෂාව පිළිබඳ ව සොයා බැලීමට ද අවස්ථාව උදා වී ඇත.

නමුත් මිනිසාගේ පහසුවට - යහපතට යොදාගත හැකි ජංගම දූරකථනය වර්තමාන සමාජයේ යහපතට මෙන් ම අයහපතට ද යොදා ගෙන තිබීම කනගාටුවට කරුණකි. ඉන් බොහෝ මිනිස් ජීවිත පරිහානියට පත් ව ඇත; පවුල් සංස්ථා බිඳ වැටී ඇත. අනිසි ක්‍රියා කලාප නිසා සිත් බිඳ වැටීම්, අවිශ්වාසය, අසත්‍ය තොරතුරු ගලායාම, සමාජයේ විෂමාකාරි ක්‍රියාවන්ට යොමු වීම සිදු ව ඇත. ඒ තුළින් මිනිස් ජීවිත විනාශ වීම් පවා සිදු ව ඇත.

දෙවියන් වහන්සේගෙන් ලද ප්‍රඥාවේ දීමනා එකිනෙකාගේ ජීවිත වඩාත් අර්ථවත් කිරීමට යොදාගත යුතු මුත් විවිධ අනිසි ක්‍රියාදාම දූරකථනය මගින් සිදු කරමින් ජීවිත විනාශ කිරීමට යොමු කිරීම දෙවියන් වහන්සේ ප්‍රතික්ෂේප කරන සේක. දෙවියන් වහන්සේගේ

කැමැත්ත නම් යුක්තිය ඉටු කරමින් නිවැරැදි දේ සමාජය තුළ ක්‍රියාත්මක වීම දැකීම ය. එසේ නව තාක්ෂණය නිසි ලෙස භාවිත කිරීමට යොමුවීම කිතුනු අපගේ වගකීම ලෙස සලකා කටයුතු කරමින් සමිඳාණන් වහන්සේ ඉදිරියේ දැහැමිකම ද යුක්තිය ද සත්‍යවාදී බව ද යන සියලු යහමග තේරුම් ගෙන කටයුතු කිරීම අවශ්‍ය වේ. දැනුම ඔබට ප්‍රඥාව හා සතුට ගෙන දෙන හෙයින් ඊට සුදුසු පරිදි සෑම ක්‍රියවක ම නිරත වීමට සිතට ගන්න.

ගුරුතුමිය : එම කණ්ඩායමේ ඉදිරිපත් කිරීම බොහොම හොඳයි. තාක්ෂණික දියුණුව මිනිස් ජීවිත ශක්තිමත් කිරීමට මිස ජීවිත විනාශයට නොවන බව මතක තබා ගත යුතුයි.
ඒ වගේ ම ජංගම දූරකථන භාවිතයේ දී එය පරිහරණය කරන ස්ථානය වේලාව හා අවශ්‍යතාව පිළිබඳ ව වඩාත් සැලකිලිමත් විය යුතු බව ද මතක තබා ගන්න.

සමිත : ඔව්........ සමහර අයගේ දූරකථන පල්ලියේ දේව මෙහෙය අතරතුර දීත් නාද වෙනවා. ඒක අනෙක් අයට බාධාවක් බව ඒ අය තේරුම් ගන්නේ නැහැ.

දිනිති : සමහරු විනෝදයට රාත්‍රි කාලයේ නිදා සිටින මිනිසුන් අවදි කරමින් අනවශ්‍ය දූරකථන ඇමතුම් ලබා දෙනවා. ඒ වාගේ ම දූරකථනයේ අසභ්‍ය දර්ශන පවා රැස්කර තබා ගන්නවා.

අජිත් : ඇයි..... තවත් අය විනෝදයට එක් එක් අය පිළිබඳ වැරැදි තොරතුරු ලබා දීමටත් දූරකථනය යොදා ගන්නවා.

දිනිති : සමහර අය දූරකථනයට ම අවධානය යොමු කරමින් මහපාරේ ගමන් කරලා අනතුරුවලට පවා ලක්වී තියෙනවා.

ගුරුතුමිය : ඔව්, ඒ හැම අදහසකින් ම කියවුණේ ජංගම දූරකථනය නිසා වන විනාශය පිළිබඳවයි. නමුත් දරුවන් ඇහුම්කන් දුන් ලිපියේ තොරතුරු පරිදි තේරුම් ගන්න අවශ්‍යයි, නව තාක්ෂණයේ දියුණුව ඇත්තේ මිනිසාගේ යහපතට බව. දෙවියන් වහන්සේ ප්‍රඥාව දී තිබෙන්නේ මිනිසාගේ යහ පැවැත්ම උදෙසායි.

දැන් දෙවන කණ්ඩායම ඉදිරිපත් කරන්න.

2 වන කණ්ඩායමේ නායක : අපට ලැබුණේ හිතෝපදේශ 3:21 හා එපීස 5:15-17 ට අනුව **"අන්තර්ජාල පහසුකම හා මුහුණු පොත භාවිතය පිළිබඳ කිතුනු දැක්ම කෙසේ විය යුතු ද"** යන මාතෘකාව යටතේ වාර්තාවක් ඉදිරිපත් කිරීමටයි. මා අපේ වාර්තාව දැන් ඉදිරිපත් කරන්නම්.

## දේව අභිමතයට අනුව අන්තර්ජාල පහසුකම හා මුහුණු පොත භාවිත කරමු.

වර්තමාන ලෝකයේ තාක්ෂණයේ දියුණුවත් සමග හඳුන්වා දී ඇති අතිශයින් ම වැදගත් කොට සැලකිය හැකි අන්තර්ජාල පහසුකම නිසා ලියා නිම කළ නොහැකි තරමට විවිධ අවශ්‍යතා සපුරා ගැනීමේ පහසුකම් සැපයීමක් සිදුවන බව කිව යුතු ම ය.

වෛද්‍ය විද්‍යාව, ගමනාගමනය, වාරිමාර්ග, මුද්‍රණය, ආදි විවිධ ක්ෂේත්‍රවල දියුණුව මෙන් ම සන්නිවේදනයේ නව පෙරලියක් වන අන්තර්ජාල පහසුකම නව තාක්ෂණ දියුණුවේ ඉතා පුළුල් වූ මංපෙත් විවර කිරීමක් සිදුකර ඇත.

අන්තර්ජාල පහසුකම් හරහා ඕනෑ ම ක්ෂේත්‍රයක තොරතුරු ලබා ගැනීමට, විශ්ව දැනුම ලබා ගැනීමට, විද්‍යුත් තැපැල පහසුකම් සපයා ගැනීමට, ඓතිහාසික, වර්තමාන හා අනාගත තොරතුරු පිළිබඳ දැනුවත් වීමට බලවත් මෙහෙවරක් ඉටු කරයි. එක් තැනක සිට ලෝකයේ ඕනෑ ම රටක් හා සම්බන්ධ වෙමින් සන්නිවේදන සම්බන්ධතා පවත්වා ගැනීමට හැකි වේ. විවිධ සේවා සපයන වෙබ් අඩවි පැවතීම නිසා අන්තර්ජාල මගින් පහසුකම් රැසක් සැපයේ. ඒ මගින් කාලය ඉතිරි වීම, බුද්ධිමය දැනුම හුවමාරු කර ගැනීමට හැකිවීම තුළින් දැනුම අලුත්කර ගැනීම වැනි යහපත් වාසි මිනිසාට අත්කර ගත හැකි වේ.

එමෙන් ම අන්තර්ජාලය භාවිත කරමින් පවත්වා ගෙන යනු ලබන "මුහුණු පොත" (Face Book) මගින් ද බොහෝ පහසුකම් සැලසී ඇත. දුර බැහැර මෙන් ම විදෙස් හි සිටින මිතුරන් ඇසුර, තොරතුරු හුවමාරුකර ගැනීම, අදහස් විමසීම, වැනි යහපත් සන්නිවේදන ක්‍රමයක් ලෙස මුහුණු පොත යොදාගත හැකි ය. වෙනත් අය ලැබූ අත්දැකීම් අධ්‍යයනය කිරීමට හා හුවමාරු කර ගැනීමට අවස්ථා මුහුණු පොත මගින් හිමි වේ.

මෙලෙස වර්තමාන තාක්ෂණ දියුණුව උදෙසා අප ලද දේව කරුණාව පිළිබඳ ව දේව වචනයේ සඳහන් දේ විමසා බලමු.

*"මාගේ පුත්‍රය, විචක්ෂණ බුද්ධිය ද, තීක්ෂණ ඥානය ද දියුණු කර ගන්න. ඒවා ඔබ කෙරෙන් පහ ව යන්නට ඉඩ නොදෙන්න."*

*හිතෝපදේශ* 3 : 21

*"එබැවින් ඔබ ජීවත් වන පිළිවෙළ ගැන ඉතා සැලකිලිමත් වන්න. අඥානයන් මෙන් නොව ඥානවන්තයන් මෙන් ජීවත් වන්න. කාලය නපුරු බැවින් ඇති හැම අවස්ථාවක ම ප්‍රයෝජන ගන්න. එබැවින් අනුවණයන් නොවී සමිඳාණන් වහන්සේගේ කැමැත්ත කිමෙක් ද කියා තේරුම් ගන්න.*

*එපීස* 5 : 15 - 17

නව තාක්ෂණය දියුණුවෙන් දියුණුවට පත්වුවත් අන්තර්ජාල පහසුකම හා මුහුණු පොත නමැති පහසුකම වර්තමාන සමාජයේ යහපත උදෙසා පමණක් ම භාවිත කර ඇති දැයි විමසා බැලීම වැදගත් කරුණකි. මන්ද වර්තමානයේ අසන්නට හා දකින්නට ලැබෙන තොරතුරු අනුව බොහෝ විට තාක්ෂණික දියුණුව යහපතට වඩා අයහපතට යොදා ගැනීම නිසා ඇතිවන විනාශය ප්‍රබල වී ඇත. අන්තර්ජාලය හරහා සිදුවන ඇතැම් අක්‍රමිකතා නිසා දරුවන් නොමගට යොමුවීම, එකිනෙකා අපහාසයට හා අපකීර්තියට පත් වීම, විවිධ අන්තර්ජාල ක්‍රීඩා මගින් සිදුවන කාලය නාස්තිය නිසා දරුවන්ගේ අධ්‍යාපනය හා යහපැවැත්ම සඳහා යොමුවිමට ඇති කාලය නාස්ති වීම, පවුලේ සබඳතා පවත්වා ගැනීමට තිබෙන කාලය අනවශ්‍ය ලෙස අන්තර්ජාලයට යොමු කිරීම යනාදි අයහපත් කරුණු පිළිබඳ ව අප සැලකිලිමත් විය යුතු වේ.

දේව වචනයට අනුව දෙවියන් වහන්සේ අපට දී ඇති විචක්ෂණ බුද්ධිය හා තීක්ෂණ ඥානය දියුණු කර ගැනීමත් ඒවා අප කෙරෙන් පහ ව නොගොස් ඥානවන්ත ව අප ක්‍රියා කිරීමත් උන්වහන්සේ අපගෙන් බලාපොරොත්තු වන සේක.

උන්වහන්සේ වදාළ පරිදි කාලය නපුරු බැවින් ඇති හැම අවස්ථාවකින් ම නිවැරැදි ලෙස ප්‍රයෝජන ගනිමින් සමිඳාණන් වහන්සේගේ කැමැත්ත ඉටු කිරීමට කටයුතු කිරීම කිතුනු දරුවන් වන අපගේ යුතුකම බව සිහි තබාගෙන ඒ අනුව ජීවත් වීමට උත්සාහ කරමු. දේව මඟපෙන්වීම ඉල්ලා යාච්ඤා කරමු.

ගුරුතුමිය : එම කණ්ඩායමේ අදහස් පිළිබඳ ව මම සතුටු වෙනවා. අන්තර්ජාලය හා මුහුණු පොත පිළිබඳ ව යහපත අයහපත හඳුනාගෙන කටයුතු කළ යුතු බව දැන සිටීමත් සතුටට කරුණක්. දැන් අපේ අවසාන කණ්ඩායමේ ඉදිරිපත් කිරීම බලමු.

3 වන කණ්ඩායමේ නායක : අපට ලැබුණු මාතෘකාව කොලොස්සි 3:5-7, 1 තෙසලෝනික 4:2-8 දක්වා බයිබල් කොටස කියවා **"කිතුනු දරුවකු ලෙස නිවැරැදි දේ දැකීමටත් කියවීමටත් යොමු විය යුතු වේ"** යන්නයි. මා දැන් සූදානම් වන්නේ ඒ මාතෘකාව යටතේ අපගේ කණ්ඩායමේ සාකච්ඡා කළ දේ ඔබ හමුවේ තැබීමටයි.

### ශ්‍රව්‍ය දෘශ්‍ය මාධ්‍ය නිවැරැදි ව භාවිත කරමු

මිනිසාගේ රස වින්දනය හා දැනුම අලුත් කර ගැනීම සඳහා ප්‍රබල මාධ්‍යයක් ලෙස කටයුතු කරන පුවත්පත්, සඟරා හා චිත්‍රපට තුළින් ප්‍රබල සන්නිවේදන කර්තව්‍යයක් සිදු වේ. පොතපත තුළින් ද පුළුල් දැනුමක් ඇතිකර ගැනීමට හැකි අතර විද්‍යුත් මාධ්‍ය වන රූපවාහිනිය හා චිත්‍රපට මගින් ඊටත් වඩා මනසේ රැඳෙන සුලු දර්ශන මගින් දැනුම වර්ධනයක් සිදු වේ. මුද්‍රණ ශිල්පයේ දියුණුවත් සමග විවිධ පොත පත සඟරා ආදිය එළි දැක්වුණ අතර අවශ්‍ය අවස්ථාවන්හි දී තොරතුරු එක්රැස්කර තබා ගැනීමට දැනුම උකහා ගැනීමට එමගින් අවස්ථාව උදා වී තිබේ. තව ද චිත්‍රපට හා රූපවාහිනිය

මගින් නිදහස් මනසක් ඇති කර ගැනීමටත්, විනෝදය සතුට ලබා ගැනීමටත්, අප වැනි දරුවන්ගේ අධ්‍යාපනික අවස්ථා පුළුල් ලෙස උදාකර ගැනීමටත් අවස්ථාව උදා වී තිබේ.

නමුත් වර්තමානයේ මෙම පහසුකම් සමාජයේ යහපතට යොදා ගැනීම වෙනුවට අයහපතට යොදා ගනිමින් අසභ්‍ය චිත්‍රපට, සඟරා හා පොත් පත් භාවිතයට යොමු වීමෙන් මිනිස් මනස විකෘති කරමින්, දේව අණ පනත් කඩ කරමින් නව තාක්ෂණික දියුණුව විනාශය කරා ගෙන ගොස් තිබේ. මිනිසාට ලබා දුන් දේව දීමනාව වන ප්‍රඥාව තුළින් වරදට යොමුවන මිනිසාට අත්වන උදහස පිළිබඳ ව, කොලොස්සි 3:5-7 දක්වා බයිබල් කොටසේ මෙලෙස සඳහන් වේ.

*එබැවින් කාමමිථ්‍යාචාරය, අපිරිසිදුකම, කාමරාගය, නපුරු තෘෂ්ණා සහ රූප වැඳීමත් වැනි තණ්හාව යන කාමුක දුසිරිත් නසා දමන්න. මේ දේ නිසා අකීකරු වන අය පිට දේව උදහස පැමිණෙනු ඇත. ඔබත් එක් කාලයක දී ඔවුන් මෙන් දුසිරිත්වල ඇලී ගැලී ජීවත් වූවහුය.*

මෙලෙස අසභ්‍ය චිත්‍රපට සඟරා හා පුවත්පත් මගින් සිතින් මෙන් ම ක්‍රියාවෙන් ද කාමමිථ්‍යාචාරයට, අපිරිසිදුකමට, කාමරාගයට, නපුරු තෘෂ්ණා යන දුසිරිත්වලට යොමුවන බවත් දේව උදහස පැමිණෙන බවත් දේව වචනය තුළින් පැහැදිලි වේ. දේව වචනයේ සඳහන් දේ නම්;

*"දෙවියන් වහන්සේගේ කැමැත්ත නම් ඔබ ශුද්ධ ව සිටීම ය. ඔබ කාමයෙහි වරදවා හැසිරීමෙන් වැළකී සිටිය යුතු ය. ඔබ එකිනෙකා තම තමාගේ ශරීරය දමනය කරගෙන එය ශුද්ධ ව ද, ගෞරවයෙන් යුක්ත ව ද තබා ගැනීමට දැනගත යුතු ය. දෙවියන් වහන්සේ නොදන්නා විජාතීන් මෙන්, ඔබ කාම තෘෂ්ණාවෙහි ගැලී නොසිටිය යුතු ය. මේ කාරණයේ දී කිසිවකු තම සහෝදරයා රවටා වාසියක් නොගත යුතු ය. මන්ද අප ඔබට කලින් කියා තදින් අවවාද කළ ලෙස මෙබඳු අයට සමිඳාණන් වහන්සේ විපාක දෙන සේක. දෙවියන් වහන්සේ අප කැඳෙව්වේ අපවිත්‍රකමට නොව පවිත්‍රකමට ය. එබැවින් මේ ඉගැන්වීම් ප්‍රතික්ෂේප කරන්නා විසින් ප්‍රතික්ෂේප කරනු ලබන්නේ මනුෂ්‍යයා නොව ස්වකීය ශුද්ධාත්මයාණන් ඔබට ප්‍රදානය කරන දෙවියන් වහන්සේ ය.*

1 තෙසලෝනික 4 : 3 - 8

ඉහත දේව වචනයට අනුව අපගේ ජීවිත හැඩගස්වා ගනිමින් උන්වහන්සේට ප්‍රසන්න වූ දිවි පෙවෙතක් ගත කිරීමට කිතුනු දරුවන් වන අපි සිතට ගනිමු. ඒ අනුව

- අපගේ ශරීර දමනය කර ගනිමු.
- අපගේ සිත් පිරිසිදු ව තබා ගනිමු.
- දෙවියන් වහන්සේගේ කැමැත්ත අනුව ශුද්ධවත් ජීවිතයක් ගත කරමු.
- කාමමිථ්‍යාචාරයෙන් වැළකී සිටිමු.
- අවට සිටින අය කෙලෙස ක්‍රියා කළත් නිවැරැදි දේ අවබෝධ කර ගනිමින් යහපත් ජීවිත ගත කරමින් අන් අයට ආදර්ශවත් වෙමින් ජීවත් වෙමු.

ගුරුතුමි : බොහොම හොඳයි. කණ්ඩායම් තුනේ ම ඉදිරිපත් කිරීම් පිළිබඳ ව මම සතුටු වෙනවා. දරුවන් ඉදිරිපත් කළ කරුණු තුළින් ම දූන් ඔබට වැටහෙනවා ඇති නව තාක්ෂණයේ දියුණුව ඉතා හොඳ නමුත් ඒවා නිසි ලෙස භාවිත කරමින් සමිඳුන්ගේ කැමැත්ත සොයා බලමින් දෙවියන් වහන්සේ දුන් ප්‍රඥාව තුළ උන්වහන්සේ මහිමයට පත්වන ලෙස ජීවත් වීම කිතුනු අපගේ යුතුකම හා වගකීම බව

ඔබ සැමට ජේසු පිහිටයි.

දරුවන් : ජේසු පිහිටයි ගුරුතුමි.

**ක්‍රියාකාරකම**

1. නව තාක්ෂණ දියුණුව දේව සේවය සඳහා භාවිත කළ හැකි අවස්ථා **තුනක්** ලියන්න.
2. "නව තාක්ෂණය හා දේව අභිමතය" යන මාතෘකාව යටතේ බිත්ති පුවත්පතකට ලිපියක් ලියන්න.

# 15 දෙවිඳුන් තුළ නිවැරදි සබඳතා

1 කොරින්ති 6 : 12-14, 18-20 හෙබ්‍රෙව් 13 : 4

දෙවියන් වහන්සේ උන්වහන්සේගේ ස්වරූපය අනුව අප මවා වදාළ බවත්, දේව මැවිල්ල තුළ අප ඉතා ම වටිනා දේව මැවිල්ල බවත්, අපට ජීවිතය ලබා දුන්නා සේ ම අප සුරකින්නේ දෙවියන් වහන්සේ බවත්, අප මීට පෙර වසරවල දී හදාරා ඇත.

දෙවියන් වහන්සේ මෙලෙසින් තම දේව මැවිල්ල තුළ ඔබ ඉතා උසස් කොට තැබුවා පමණක් නොව ඔබ "ශුද්ධාත්මයාණන් වහන්සේගේ මාළිගාව" බව ද දේව වචනයේ සඳහන් වේ. ඒ මෙලෙසිනි.

> *"ඔබගේ ශරීරය ඔබට දෙවියන් වහන්සේ දෙවා වදාළ, ඔබ තුළ වැඩ වසන ශුද්ධාත්මයාණන්ගේ මන්දිරය වන බව ඔබ නොදන්නහු ද? ඔබ ඔබට ම අයිති නැත. ඔබ මිලට ගත් අය වන්නහු ය. එබැවින් ඔබගේ ශරීර දේව මහිමය සඳහා යොදවන්න."*
>
> 1 කොරින්ති 6:19,20

දේව වචනයට අනුව,

- ⋆ අපගේ ශරීර අපට ලබා දී තිබෙන්නේ දෙවියන් වහන්සේ විසිනි.
- ⋆ එහෙයින් අපගේ ශරීරයේ අයිතිය ඇත්තේ දෙවියන් වහන්සේ සතු ව ය.
- ⋆ ශුද්ධාත්මයාණන් වහන්සේගේ මාළිගාව වනුයේ අප ශරීරයයි. එබැවින් ශුද්ධාත්මයාණන් වහන්සේ අප තුළ වැඩ වසන සේක.
- ⋆ එබැවින් අපගේ ශරීර දෙවියන් වහන්සේට ගෞරව වන ලෙසට නිවැරැදි ව, ශුද්ධ ව පවත්වා ගත යුතු වේ.

මෙලෙස අපගේ ශරීර දෙවියන් වහන්සේට ගෞරව වන ලෙසට නිවැරැදි ව ශුද්ධ ව පවත්වා ගැනීමට නම් අප තුළ පැවැතිය හැකි අයහපත් ජීවන රටා හඳුනාගෙන, ඒවායින් මිදී නිවැරැදි ජීවිත රටාවක් අනුගමනය කිරීමට සැම විට ම උත්සාහ ගැනීම වැදගත් වේ. අප අපගේ ජීවිත පවත්වා ගත යුතු නිවැරැදි ආකාරය පිළිබඳ ව දේව වචනයෙන් අපට ලබා දෙන මග පෙන්වීම විමසා බලමු.

**විමසා බලමු**
**1 කොරින්ති 6 : 12 - 14 හා 18**

**“මා කැමති දෙයක් කිරීමට මට නිදහස ඇතැ”යි** අපි බොහෝ විට සිතන්නෙමු. එහෙත් ඉහත දේව වචනයට අනුව එය එසේ නොවන බව පැහැදිලි ය. දෙවියන් වහන්සේ අපට ලබා දී ඇති නිදහස නම් සියල්ලේ දී යහපත ම තෝරා ගැනීම උදෙසා පමණක් වේ. එහෙයින් කිසි විටක කිසිදු අයහපත් දෙයකට අවනත නොවී සිටීමට අපගේ සිත් යොමු කළ යුතු වේ. අපට ලබා දී තිබෙන නිදහස නිවැරැදි ජීවිත පැවැත්මක් උදෙසා මිස දෙවියන් වහන්සේ අනුමත නොකරන්නා වූ අයහපතට යොමු වීමකට ලැබෙන නිදහසක් නොවන බව දේව වචනයෙන් අපට අවබෝධ කරගත හැකි වේ.

දෙවියන් වහන්සේ වදාළ ලෙස ශුද්ධාත්මයාණන් වහන්සේගේ මන්දිරය වූ ඔබ තුළ උන්වහන්සේ වැඩ වසන බව අන් අයහට ප්‍රකාශ වීමට නම් ඔබගේ සිතුවිලි, කථාව, හා හැසිරීම දේව කැමැත්තට අනුකූල වීම අවශ්‍ය වේ. එබැවින් ඊට සරිලන ලෙස යහපත් නිවැරැදි ජීවිත පැවැත්මකට ඔබ යොමු වීම ද අවශ්‍ය වේ. අවසානයේ අපගේ ජීවිතවලින් සැබෑ දේව ස්වරූපය අන්‍යයන් වෙත අත් දකින්නට හැකිවීම අපේක්ෂා කෙරේ.

**අපගේ ජීවිත තුළින් දේව ස්වරූපය අන් අය අත් දකින්නට නම් අපගේ ජීවිත පැවැත්ම තුළින් බැහැපත්කම, දැහැමිකම, ශුද්ධවන්තකම, අවංකකම හා ප්‍රේමයෙන් පූර්ණ ක්‍රියාකාරිත්වයක් පිළිබිඹු වීම අවශ්‍ය වේ.**

මෙලෙස දේව ගෞරවය උදෙසා දේව කැමැත්තට අනුකූල වන ලෙස අපගේ ශාරීරික ආත්මික හා මානසික ක්‍රියා නිවැරැදි ව, යහපත් ව පවත්වා ගත යුතු මුත් වර්තමානයේ සමාජය වෙතින් අසන්නට හා දකින්නට ලැබෙන ප්‍රවණතා තුළ මාංසික තෘෂ්ණාවලට ප්‍රමුඛතාව ලබාදෙන, එනිසා ම ළමා ජීවිත හානියට පත් කරන, ළමා අපචාර හා අපගේ ජීවිත විනාශයට ලක් කෙරෙන සමාජ පසුබිමක් නිර්මාණය වෙමින් පැවතීම කනගාටුවට කරුණකි. මෙහි දී ඔබ වැනි දරුවන්ගේ ජීවිත සුරැකීමත්, දේව ගෞරවය උදෙසා ක්‍රියා කිරීමට ඔබට මග පෙන්වීමත් කිතුනු පවුලක වගකීමක් වන බව දේව වචනයේ මෙලෙස සඳහන් වේ.

> *විවාහය සියල්ලන් අතර ගෞරවනීය ව ද විවාහ බැම්ම නොකැලැල්ව ද පවතීවා. මන්ද, අවකල් ක්‍රියා කරන්නන් ද කාමමිථ්‍යාචාරිකයන් ද දේව විනිශ්චයට ලක්වනු ඇත.*
>
> හෙබ්‍රෙව් 13:4

පවුල් ජීවිතය ප්‍රේමණීය ව හා නොකැලැල් ව පවත්වා ගැනීම දේව නියමයක් බව මින් අපට පැහැදිලි වේ. එසේ නොවී එකී දේව නියමයන්ට එරෙහි ව කටයුතු කිරීම දේව විනිශ්චයට ලක් වීමට හේතු වන බව ද පෙන්වා දී ඇත. යහපත් පවුල් පසුබිමක් තුළ දරුවන්ගේ ජීවිතවල සුරක්ෂිත බවත් ඔවුන්ගේ අභිවෘද්ධියත් සහතික කෙරේ. නමුත් පවුලේ අයහපත් හැසිරීම් රටා නිසා;

- ⋆ පවුල් ආරවුල් ඇති වේ.
- ⋆ පවුල් සංස්ථාව බිඳ වැටේ.
- ⋆ පවුලේ සතුට තුරන් ව ගොස් අසහනයට හේතු වේ.
- ⋆ පවුලේ පිරිහීම වේගවත් වේ.
- ⋆ දරුවන් අසරණ භාවයට පත් වේ.
- ⋆ දේව විනිශ්චයට ලක් වේ.

මෙලෙස පවුලේ සමගිය බිඳ වැටීම හේතුවෙන් විවිධ දුක් කරදරවලට දෙමාපියන් හා දරුවන් ලක්වන්නේ නිරායාසයෙනි. එබැවින් අපි නිවැරැදි ව, ශුද්ධවත් ව, නොකැලැල් ව ජීවත් වෙමින් අපගේ ද, සමාජයේ ද සුරක්ෂිතතාව සුරැකීමට කටයුතු කරමු. ඒ මගින් සදාචාරාත්මක සමාජයක් ගොඩ නැගීමට සාමූහික ව දායක වෙමු.

**ක්‍රියාකාරකම**

1. ජේසුස් වහන්සේ විසින් මග පෙන්වූ, දරුවන්ගේ යහපත් හැසිරීම් රටාවකට හේතු වන ඉගැන්වීම් **තුනක්** ලියන්න.
2. පාඩම තුළින් මතුවූ සදාචාරාත්මක සමාජයකට අවශ්‍ය නිවැරැදි ජීවන රටා **දෙකක්** ලියන්න.

# 16 දෙව් වදනින් දිවියට පදනම

**ගීතාවලිය 119 : 105-111**

දෙවියන් වහන්සේ මිනිසා වෙත අනාවරණය වන ප්‍රබලතම මාර්ගය "දේව වචනය" බව පෙන්වා දිය හැකි වේ. දේව වචනය අසා එය පිළිපැදීමෙන් අප ජීවිත සාර්ථක කර ගත යුතු ආකාරය ශුද්ධ බයිබලය අපට පෙන්වා දී ඇත. එම නිසා අප කිතුනු දිවියේ යහ පැවැත්මට දේව වචනය නිවැරැදි ලෙස අවබෝධ කර ගැනීම අත්‍යවශ්‍ය දෙයක් බවට පත් ව ඇත.

දේව වචනය අවබෝධ කරගැනීම සඳහා දෙවියන් වහන්සේ අපට විවිධාකාරයෙන් මඟපෙන්වන සේක. බොහෝ විට දේවගැතිවරුන්, දහම්පාසල් ගුරුවරුන්, දෙමව්පියන්, වැඩිහිටියන්, සහෝදර සහෝදරියන් වැනි අය දේව වචනය තේරුම් ගැනීමට අපට මඟපෙන්වනු ඇත.



"ඔබේ වචන මාගේ දෙපයට පහනක් ය; මාගේ මාවතට එළියක් ය"
ගීතාවලිය 119:105

**විමසා බලමු**
**ගීතාවලිය 119 : 105 - 111**

දෙවියන් වහන්සේගේ වචනය, අපගේ ජීවිතවලට නිවැරැදි මාර්ගය හෙළි කර දෙන ආලෝකයකි. පාපය නැමැති අඳුරෙන් මිදී අප ජීවිත ආලෝකවත් කර ගැනීමට දේව වචනය අපට මඟපෙන්වයි. එය කෙලෙස සිදුවන්නේ දැයි විමසා බලමු.




- **ජීවිතයට නිවැරැදි මඟ පෙන්වන දේව වචනය**

දෙවියන් වහන්සේගේ වචනය අපගේ ජීවිත ආලෝකවත් කරයි. දෙවියන් වහන්සේගේ වචනය නිරතුරු ව ම අප ගමන් කළ යුතු නිවැරැදි මඟ පෙන්වා දෙනු ඇත. අන්ධකාර වූ වැරැදි මාර්ගයන්ගෙන් අප නිවැරැදි මාර්ගයට යොමු කරවන්නේ දේව වචනයයි.

- **වැරැදි අවබෝධ කර දෙන දේව වචනය**

දෙවියන් වහන්සේගේ දැහැමි නියම අපගේ ජීවිතවල පවතින අයහපත් ගති පැවතුම් අපට පෙන්වා දෙයි. දෙවියන් වහන්සේ, මිනිසාගෙන් දේව නියම ඉටු කිරීම බලාපොරොත්තු වන සේක. දෙවියන් වහන්සේ වෙනුවෙන් අපට කළ හැකි උපරිම මෙහෙවර නම් උන්වහන්සේගේ නියම ඉටු කිරීමයි. එම නිසා නිරන්තරයෙන් දෙවිපියාණන්ගේ නියම ඉගෙන ගැනීමට උත්සාහ දැරීම වැදගත් වේ.

එපමණක් නොව එම නියම නිරතුරු මෙනෙහි කිරීමත්, හැකි සෑම විට ම එම පණත් ඉටු කිරීමට උත්සාහ දැරීමත් වැදගත් වේ. එමගින් පිරිපුන් ජීවිතයක් කරා ගමන් කිරීමට අපට හැකියාව ලැබේ. අප විසින් කරනු ලබන ඕනෑ ම ක්‍රියාවක වැරැදි හෝ නිවැරැදි බව තීරණය කළ යුතු වන්නේ දේව වචනය පදනම් කරගෙන ය.

- **අප ධෛර්යවත් කරන දේව වචනය**

අපගේ ජීවිතවලට මුහුණ දීමට සිදුවන නොයෙකුත් දුක් පීඩාවල දී අප ධෛර්යවත් කරන්නේ දේව වචනයයි. දේව වචනය ආධ්‍යාත්මික වශයෙන් අප ධෛර්යවත් කරමින් අපගේ ජීවිත ප්‍රාණවත් කරයි. අධෛර්යවත් අවස්ථාවල දේව වචනය කියවීමෙන් හා මෙනෙහි කිරීමෙන් ජීවිතයට නව ශක්තියක් හා බලයක් ලැබේ.

- **දේව නියමය උගන්වන දේව වචනය**

දේව වචනය තුළින් දේව නියම අවබෝධ කර ගැනීමට දෙවි පියාණන් වහන්සේ අපට මඟපෙන්වන සේක. ජීවිත යහමඟ ගෙන යාමට අවශ්‍ය කරන දහැමි නියම අප විසින් හඳුනාගනු ලබන්නේ දේව වචනය තුළිනි. ශුද්ධ බයිබලය මගින් දෙවියන් වහන්සේ අපට ලබා දෙන නීති නියම දැනගැනීමත්, පිළිපැදීමත් මගින් ජීවිතයට නව අරුතක් ගෙන දෙයි.

- **සතුරන් පරාජය කරන දේව වචනය**

දෙවියන් වහන්සේගේ වචනය හේතු කොටගෙන අප වෙත පැමිණෙන බොහෝ සතුරු උවදුරු අප කෙරෙන් දුරු කරගත හැකි වේ. පාපයට වැටීමට අප වෙත විවිධ පරීක්ෂා පැමිණිය ද දේව වචනය තුළ ඒවා පරාජය කිරීමේ හැකියාව අපට ඇත. එම නිසා කිසිදු බියක් සැකක් නොමැති ව දෙවි වදන් නැමති මාර්ගයෙහි ගමන් කිරීමට අපට හැකි වේ. අප වෙත පැමිණෙන විවිධ අනතුරු ජීවිත අවදානම් තුළ පවා අප බියක් ඇති කරගත යුතු නොවේ. මන්ද දෙවියන් වහන්සේගේ වචනය විසින් එවැනි අනතුරු හා සතුරු උවදුරුවලින් අපගේ ජීවිත ආරක්ෂා කරනු ලබන බැවිනි.

- **ප්‍රීතිය ගෙන දෙන දේව වචනය**

දෙවියන් වහන්සේ හා මිනිසා අතර සදාකාලික ගිවිසුමක් ඇතිකරගත් ආකාරය ශුද්ධ බයිබලය අපට පෙන්වා දෙයි. එම නිසා දේව වචනය පිළිපැදීම හා ඒ තුළ ජීවත් වීම මිනිසාගේ උරුමයක් හා වගකීමක් වේ. දෙවියන් වහන්සේගේ වචනය සම්පූර්ණ කැමැත්තෙන් හා පූර්ණ උත්සාහයෙන් ඉටු කිරීම වැදගත් වේ.

මෙලෙස දේව වචනය තමන් සතු කර ගැනීමෙන් හා ඒ තුළ ජීවත් වීමෙන් මිනිසාට ප්‍රීතිය ළඟාකරගත හැකි වේ. එම නිසා දේව වචනයට පිටුපා අයහපත් ක්‍රියාවල නොයෙදීම ඔබගේ වගකීමකි. දේව වචනය තුළ ජීවත් වන්නා සදාකාල ප්‍රීතියෙහි උරුමකරුවෙකි. එලෙස දේව වචනය මත තම ජීවිතයේ ප්‍රීතිය අත්කරගත් ශිෂ්‍යයෙකුගේ සැබෑ අත්දැකීමක් පහත දැක්වේ.

නගරයෙන් සැතපුම් ගණනාවකට ඈතින් පිහිටි එක්තරා පිටිසර ගම්මානයක ශිෂ්‍යයෙක් විෂය සියල්ලට ම විශිෂ්ට සම්මාන ලබා ගනිමින් අ.පො.ස. සාමාන්‍ය පෙළ විභාගය සමත් විය. කිතුනු භක්තිකයකු වූ මේ සිසුවා පාසල නිම වී සවස් කාලය ගත කළේ සිය දෙමව්පියන්ගේ ගොවිතැන් කටයුතුවලට උපකාර කිරීමෙනි. එසේ ම ඔහුට කිසි ම විෂයයක් සඳහා උපකාර පන්තියකට සහභාගී වීමේ හැකියාවක් ද නොමැති විය. ඔහු තමා ලබාගත් විශිෂ්ට ප්‍රතිඵලය ගැන තමන්ට ක්‍රිස්තියානි ධර්මය විෂයය උගන්වන ගුරුතුමියට මෙලෙස ප්‍රකාශ කළේ ය. "මම සෑම දිනයක ම අලුයම අවදි වී පාඩම් කිරීමට ප්‍රථමයෙන් ශුද්ධ බයිබලයේ හිතෝපදේශය හෝ ගීතාවලිය පොතේ පරිච්ඡේදයක් කියවීමෙන් අනතුරුව දෙවි පියාණන්ට දවස බාර දෙමින් යාච්ඤාවක් කළෙමි" ඔහුට එලෙස සාර්ථක ගමනක් යෑමට, එම යහපුරුද්ද තුළ දෙවියන් වහන්සේ මඟපෙන්වූ බව ඔහු තම ගුරුතුමියට ප්‍රකාශ කළේ ය.

දේව වචනය පිළිගැනීමෙන් හා පිළිපැදීමෙන් අපගේ ජීවිත තුළට ප්‍රීතිය ළඟා වේ. එම ප්‍රීතිය අන් අයගේ ද විශ්වාසය ශක්තිමත් කිරීම සඳහා යොදා ගැනීම වැදගත් වේ. දේව වචනයට අනුව දිවි ගෙවීමෙන් ඔබ ලබන අත්දැකීම ඔබේ මිතුරු මිතුරියන් සමග බෙදා ගැනීම වැදගත් වේ. එමගින් ඒ අයගේ ජීවිත ද යහමඟට ගෙනයාමට උපකාර කළ හැකි වේ. අන් අයගේ ජීවිත යහපත වෙත යොමු කිරීමට ද, ඔවුන්ගේ වැරැදි නිවැරැදි කර දීමට ද, ජීවිත අභියෝග ජය ගැනීමට ද එලෙස ඔබට දායක විය හැකි වේ. එසේ ම විපතට පත්වූවන් ධෛර්යවත් කිරීම ද, අන් අය තුළ පවතින බිය දුරු කිරීම ද, යහපත මගින් සතුරන් පරාජය කිරීම සඳහා ද ඔබ අවට සිටින්නන් වෙත දේව වචනය මගින් මහත් මෙහෙවරක් කළ හැකි වේ.

මෙලෙස දිනපතා දේව වචනය මෙනෙහි කර, ඒ තුළින් මඟපෙන්වීම් ලබා ධෛර්යයෙන් හා ප්‍රීතියෙන් යුතු ව ජීවිතයට මුහුණ දෙන අයකු ලෙස ජීවත් වීමට නිරතුරුව ම උත්සාහ දරමු.

**ක්‍රියාකාරකම්**

1. දේව වචනය මගින් ඔබේ ජීවිතයට ලැබෙන මඟපෙන්වීම් හතරක් ලියන්න.
2. දෙවි පියාණන්ට දවස බාර කරමින් හිමිදිරි උදෑසන සිදු කළ හැකි යාච්ඤාවක් ලියන්න.
3. දේව වචනය පදනම් කරගනිමින් ඔබගේ මිතුරෙකුගේ ජීවිතයට ලබාදුන් මඟපෙන්වීමක් විස්තර කරන්න.

# 17 දෙවි වදනින් දිවියට ශක්තිය හා සරණ

**ගීතාවලිය 46 : 1-11**

එදිනෙදා ජීවිතයේ දී අප මුහුණ දෙන විවිධ ව්‍යසන පිළිබඳ පුවත්පත් ශීර්ෂ පාඨ කිහිපයකි මේ,

- අධික නියඟයෙන් දැඩි පීඩා
- මෙම වසරේ රිය අනතුරුවල වැඩි වීමක්
- පිළිකා රෝගීන්ගේ වාර්තාගත ඉහළ යාමක්
- බෝම්බ ප්‍රහාරයෙන් දේපළ හා ජීවිත හානි
- නායයෑමෙන් නිවාස පනහකට හානි
- මාරාන්තික ඩෙංගු උවදුර යළිත් හිස ඔසවයි

මෙවැනි ව්‍යසන කරණකොටගෙන මනුෂ්‍යයා බෙහෙවින් පීඩාවට පත්වනු නිසැක ය. එය ශාරීරික මෙන් ම මානසික යන දෙයාකාරයෙන් ම සිදුවිය හැකි ය. ව්‍යසනවලට ලක්වන මනුෂ්‍යයාට අත්විඳීමට සිදුවන ශාරීරික හා මානසික පීඩා කිහිපයක් අපට මෙලෙස හඳුනාගත හැකි ය.

- ★ කම්පනයට හා භීතියට පත් වීම
- ★ ආධ්‍යාත්මික ජීවිතය බිඳ වැටීම
- ★ අනාගත බලාපොරොත්තු සුන් වීම
- ★ අන් අයගේ පිහිට පැතීමට සිදු වීම
- ★ ජීවිතය පිළිබඳ කලකිරීමක් ඇති වීම

අතීතයේ ඉශ්රායෙල් ජනතාව තම දුක් පීඩාවල දී දෙවියන් වහන්සේගේ පිහිට හා සරණ පැතූහ. ඔවුන් මිසරයේ වහල් සේවයේ යෙදී සිටි අවස්ථාවේ දී හා බැබිලෝනීය විප්‍රවාස අවස්ථාවල දී ජාතියක් වශයෙන් සාමූහික ව එක් ව දෙවියන් වහන්සේගෙන් පිහිට පැතූහ. එවැනි අවස්ථාවල දී දෙවි පියාණන් වහන්සේ ඔවුන්හට පිහිට වූ සේක; ඔවුන් ශක්තිමත් කළ සේක. එපමණක් නොව දෙවියන් වහන්සේ ඉශ්රායෙල් ජනතාව ජයග්‍රහණය කරා ගෙනගිය සේක. එවන් අත්දැකීමක් තුළ ඔවුන් සිදුකළ "විශ්වාසයේ ප්‍රකාශයක්" මෙලෙස වේ.

**විමසා බලමු**
**ගීතාවලිය 46 : 1 - 6**

**පීඩා තුළ, අප සමග වැඩවසන දෙවිපියාණන් වහන්සේ**

- අපගේ සරණය හා ශක්තිය වන සේක
- අපගේ ජීවිත සුරකින සේක
- අඳුර මැද අපගේ බිය දුරු කරන සේක.
- ජයග්‍රහණය කරා අප යොමු කරන සේක

අපගේ පීඩා හමුවේ දෙවියන් වහන්සේ අපහට පිහිට වන ආකාරය විමසා බලමු.

1. **අපගේ සරණ හා ශක්තිය වන දෙවියන් වහන්සේ**

විවිධ පීඩා හා අභියෝග හමුවේ දෙවියන් වහන්සේ මනුෂ්‍යයාට පිහිට වූ ආකාරය පුරාණ ගිවිසුමෙහි සඳහන් වේ. එවැනි අවස්ථාවල දී දෙවියන් වහන්සේ අප කායික ව, මානසික ව ශක්තිමත් කරන සේක. දෙවියන් වහන්සේ අප වෙත සරණ හා ශක්තිය ලබා දෙන අවස්ථා කීහිපයක් හඳුනා ගනිමු.




2. **අපගේ ජීවිත සුරකින දෙවියන් වහන්සේ**

දෙවියන් වහන්සේගේ කරුණාව, අප ජීවිත විපත්වලින් ආරක්ෂා කරන සේක. දෙවියන් වහන්සේ ඉශ්රායෙල් ජනතාවගේ ජීවිත ආරක්ෂා කළ ආකාරය ගැන ලැබූ අත්දැකීම් මෙම ගීතය මගින් අපට තේරුම් ගත හැකි වේ. ජීවිතයේ විවිධ අවදානම් අවස්ථාවල දී උන්වහන්සේ අපට ද පිහිට වන සේක.




3. **අඳුර මැද අපගේ බිය දුරු කරන දෙවියන් වහන්සේ**

අප ජීවිත අඳුර මැදින් ගමන් කරන බියකරු අවස්ථාවල දී දෙවි පියාණන් වහන්සේ අපට පිහිට වන සේක. එවැනි අවස්ථාවල අප නොසිතන ආකාරයේ මැදිහත්වීම් මගින් උන්වහන්සේ අපගේ බියදුරු කරන සේක.

**දෙවියන් වහන්සේ අඳුර මැද අපගේ බිය දුරු කරන අවස්ථා**

- → අසාධ්‍ය ලෙඩ රෝග
- → සතුරු කරදර
- → අපට විරුද්ධ ව කෙරෙන අසත්‍ය චෝදනා

**4. ජයග්‍රහණය කරා අප මෙහෙයවන දෙවියන් වහන්සේ**

සෑම පුද්ගලයකුහට ම තම ජීවන ගමන් මඟෙහි නිවැරදි තීරණ ගැනීමට දෙවියන් වහන්සේ මඟපෙන්වන සේක. එමගින් අපට ජයග්‍රහණය වෙත ළඟා වීමට හැකියාව ලැබේ.

**දෙවියන් වහන්සේ ජයග්‍රහණය කරා අප මෙහෙයවන අවස්ථා**

- → අධ්‍යාපන ඉලක්ක
- → රැකියාව පිළිබඳ අනාගත බලාපොරොත්තු
- → දේව දරුකමේ ගුණාංග දරමින් යහපත් පුරවැසියකු වීමේ අරමුණ

දෙවියන් වහන්සේ සියල්ලට ඉහළින් වැඩ වසමින් අපගේ ජීවිතයට සරණ හා ශක්තිය ලබා දෙන සේක. එමගින් අපගේ ජීවිතවලට පැමිණෙන නොයෙකුත් පීඩා අභියෝග ජයගනිමින් පූර්ණ ජීවිතයක් කරා ළඟා වීමට අපට හැකියාව ලැබේ.

විවිධ පීඩාවලට මුහුණ දීම

↓

දෙවියන් වහන්සේගේ සරණ හා ශක්තිය ලැබීම

↓

මිනිසා පූර්ණත්වය කරා ළඟා වීම

*නිශ්චල වන්න, මා දෙවිඳුන් බව සිතට ගන්න. මුළු දෙරණට අගරජ බව; සව්සත හට අගරජ බව වටහා ගන්න;*

*ගීතාවලිය 46:10*

අප නිරතුරු ව දෙවි සමිඳුන් අභියස නිශ්චල ව උන්වහන්සේගේ හඬ අසමින් රැඳී සිටීමට උත්සාහ කිරීම වැදගත් වේ. අප එලෙස උන්වහන්සේ සමීපයෙහි රැඳි සිටින විට, අපගේ ජීවිතවලට ලැබෙන දෙවි සමිඳුන්ගේ සරණ හා ශක්තිය අත් දැකීමට හැකි වනු ඇත.

කිතුනු දරුවකු වන ඔබ ඔබගේ ජීවිතයේ සෑම කාරණයක දී ම සරණ හා ශක්තිය දෙවියන් වහන්සේ වෙතින් ඔබ වෙත පැමිණෙන බව වටහා ගැනීම වැදගත් වේ. එලෙස උන්වහන්සේගේ සරණය හා ශක්තිය ලබන අප සාමූහික ව ජීවත් වෙමින් අප සමග ජීවත් වන අන් අයගේ ජීවිත ගොඩනැංවීමට ක්‍රියා කිරීම වැදගත් වේ. එලෙසින් ක්‍රියාකළ හැකි අවස්ථා කිහිපයක් හඳුනාගනිමු.

- එකිනෙකාගේ අවශ්‍යතා හඳුනාගෙන, හැකි අයුරින් ඔවුන්හට පිහිට වෙමු.
- මානසික වශයෙන් අසහනයට පත් වූවන් එම තත්ත්වයෙන් මුදවා ගැනීමට ක්‍රියා කරමු.
- අන් අයගේ ජීවිත ආරක්ෂා කිරීමට ක්‍රියා කරමු.
- එකිනෙකාගේ බිය දුරු කිරීමට ක්‍රියා කරමු.
- ජීවිතය ජය ගැනීමට ඔවුන් ධෛර්යවත් කරමු.
- උත්සාහයෙන් නැගිට සිටීමට ඔවුනට අතහිත දෙමු.

**ක්‍රියාකාරකම්**

1. ව්‍යසනයට පත් වූවන් දක්වන විවිධ ප්‍රතිචාර කෙටියෙන් හඳුන්වා දෙන්න.
2. දෙවියන් වහන්සේ කෙරෙහි විශ්වාසය තබා ගනිමින් ඔබගේ ජීවිතයේ පීඩාවක් ජයගත් අවස්ථාවක් විස්තර කරන්න.
3. දෙවි සමිඳාණන්ගෙන් සරණ හා ශක්තිය ලබන ඔබට පන්තිකාමරය තුළ ඔබගේ මිතුරන්ගේ ජීවිත ශක්තිමත් කිරීමට ක්‍රියා කළ හැකි අවස්ථා **තුනක්** පෙන්වා දෙන්න.

# 18 තමකම නසා කුරුසිය දරමු

මතෙව් 16 : 24-27

(එක්තරා දහම් පාසලක 9 ශ්‍රේණියේ සිසුන් හා ගුරුතුමිය අතර ඇති වූ දෙබසක් පහත දැක්වේ)

**ගුරුතුමිය :** ඔයාලා දන්නවා ද මේ ඡායාරූපයේ ඉන්නේ කවුද කියලා?

**සිත්මි :** ඒ ඉන්නේ විදේශීය පූජකවරයෙක් නේද?

**ගුරුතුමිය :** ඔව් දුවගේ පිළිතුර හරි. මේ, අපේ රටෙහි අධ්‍යාපන ක්ෂේත්‍රයට මහත් සේවයක් කළ දේවගැතිතුමෙකුගේ ඡායාරූපයක්. එතුමාගේ නම ගරු ජේම්ස් එච්. ඩැරල් දේවගැතිතුමායි.

**කවිඳු :** මොකක් ද ඉතින් එතුමාගේ තියෙන විශේෂත්වය?

**ගුරුතුමිය :** එතුමා ගැන කියනවානම් 1872 ජූනි 9 දා උපන් එතුමා කේම්බ්‍රිජ් විශ්වවිද්‍යාලයේ ගණිතය විෂය සඳහා ඉහළ ම සම්මානයෙන් පිදුම් ලද කෙනෙක්. සැම අතින් ම අධ්‍යාපනය සම්බන්ධ ව එතුමා දක්ෂ කෙනෙක් වුණා. නමුත් එතුමා දේවගැතිවරයෙකු ලෙස තම දක්ෂතා හා තම ජීවිතය අන් අය වෙනුවෙන් කැප කළා. ඒ අනුව දේව කැමැත්තට අවනත වෙමින් එතුමා ශ්‍රී ලංකාවේ සේවය සඳහා පැමිණියා.

**නාලිකා :** ලංකාවේ එතුමා කොහෙද පදිංචි වුණේ? සේවය කළේ?

**ගුරුතුමිය :** 1896 දී එතුමා ගාල්ලේ රිච්මන්ඩ් විද්‍යාලයේ විදුහල්පතිතුමා වශයෙන් සේවය සඳහා පත් ව ආවා. ඒ වන විට එතුමාගේ වයස අවුරුදු 24 යි. තරුණ වයසේ පසු වුණත් එතුමා හරි ම දක්ෂ කෙනෙක්. විදුහලේ දියුණුවට මහත් සේවයක් කළා. 1906 දී මහා දරුණු වසංගතයක් ඇති වුණා. උණසන්නිපාතය ගාල්ල ප්‍රදේශයට ඉතා තදබල ලෙස බලපෑවා.

**කවිඳු :** වසංගත රෝගයක් කියන්නේ මැලේරියාව වගේ ඉක්මනින් පැතිර යන එකක් ද?

**ගුරුතුමිය :** ඔව්, උණසන්නිපාතය ඉතා ඉක්මනින් හැම තැනට ම පැතිරුණා. එදා ඒ පාසලේ නේවාසිකාගාරයේ සිසුන් 100කට අධික සංඛ්‍යාවක් එහි නැවතී සිටියා. උණසන්නිපාතය ඉතා දරුණු ලෙස සිසුන්ට වැළඳුණා.

**කවිඳු :** අනේ පව්! ළමයි මැරෙන්නත් ඇති නේද?

**ගුරුතුමීය :** ඔව්, හුඟාක් අය මැරුණා. ලෙඩේට බය නිසා කිසිවෙක් උදව්වට ආවේ නැහැ. දෙමවුපියන් පවා දරුවන් බලන්න ආවේ නැහැ. ඒත් මේ දේවගැති තුමා ළමයින් අත්හැර දමා ගියේ නැහැ. තනි ව ම ළමුන් රැකබලා ගත්තා. බෙහෙත් කළා. කැත කුණු තමන්ගේ අත්වලින් අස්කළා. සාත්තු කළා. තමන්ට අසනීපය වැළඳෙන බව දැන දැනත් ජේසුස් වහන්සේගේ ආදරය ඔහු ළඟ තිබුණු නිසා මහත් කැපවීමෙන් ළමුන්ට සාත්තු කළා.

**කවිඳු :** ලංකාවට ඇවිත් මේ වාගේ සේවයක් කරන්නට එතුමා කොච්චර යහපත් කෙනෙක් වෙන්න ඇද්ද?

**ගුරුතුමීය :** ඒත් එක දවසක් ඉතා මන්සියෙන් මෙහෙම වැඩ කළ එතුමාටත් උණ සන්නිපාතය වැළඳුණා. 1906 ජූලි 12 දා එතුමා ස්වර්ගස්ත වුණා. එතුමා මිය යන විට වයස අවුරුදු 35ක තරුණ දේවගැතිතුමෙක්. ජීවිතයට කොපමණ කරදර ආවත් ඒවා සියල්ල විඳ දරාගෙන ජේසුස් වහන්සේට සේවය කළ ආකාරය මේ දේවගැති තුමාගේ ජීවිතයෙන් අපට පෙන්වා දෙනවා.

**විමසා බලමු**
**මතෙව් 16 : 24 - 27**

ක්‍රිස්තුස් වහන්සේ තම ශ්‍රාවකයන් කැඳවනු ලැබුවේ උන්වහන්සේගේ අනුගාමිකත්වය සඳහා ය. එනම් ජේසුස් වහන්සේගේ ජීවිතාදර්ශය මත පිහිටා දේව රාජ්‍යය බිහි කිරීමේ ක්‍රියාවලියට දායක වීම සඳහා ය. ජේසුස් වහන්සේගේ අනුගාමිකත්වය ස්ව කැමැත්තෙන් සිදු විය යුතු ක්‍රියාවකි. එය යම් කෙනෙකු හෝ පැවරීමක් හෝ ඉල්ලීමක් මත සිදු විය යුතු නොවේ. එය බාහිර ලෝකයට පෙනෙන්නට කෙරෙන ව්‍යාජ ක්‍රියාවක් නොවීම ද වැදගත් වේ. එය මනසින් හා ආත්මයෙන් සිදුවිය යුතු සැබෑ අනුගාමිකත්වයේ ක්‍රියාවකි.

ජේසුස් වහන්සේ අනුගාමී වන්නෝ එඬේරෙකු පසු පස යන බැටළුවන්ට සමාන වෙති. එඬේරා සැමවිට ම බැටළුවන්ට ඉදිරියෙන් ගමන් කරමින් යා යුතු මග පෙන්වා දෙයි. බැටළුවෝ ද කිසිදු බලපෑමකින් තොර ව තම එඬේරා පසුපස ගමන් කරති. ජේසුස් වහන්සේ උන්වහන්සේගේ අනුගාමිකත්වය සඳහා කැඳවා ඇති අප ඒ ගමන අවසානය දක්වා කැමැත්තෙන් ගමන් කිරීම වැදගත් වේ.

ජේසුස් වහන්සේගේ අනුගාමිකයන් වීම සඳහා අපට අවශ්‍ය සුදුසුකම් මොනවා දැයි විමසා බලමු.

*"එවිට ජේසුස් වහන්සේ සිය ශ්‍රාවකයන්ට කතා කොට මෙසේ වදාළ සේක. "යමෙක් මා අනුව එන්නට කැමැත්තේ ද, ඔහු තමකම නසා, කුරුසිය දරමින් මා අනුව ඒවා"*

**මතෙව් 16:24**

ඉහත බයිබල් පාඨයට අනුව ක්‍රිස්තුස් වහන්සේගේ අනුගාමිකයකු වීමට නම් සපුරාලිය යුතු අවශ්‍යතා දෙකක් අවධාරණය කෙරේ.

1. තමකම නැසීම
2. කුරුසිය දැරීම හා උන්වහන්සේ පසුපස යෑම

## 1. තමකම නැසීම

තමකම නැසීම පිළිබඳ ව අප වෙත මහඟු ආදර්ශය ලබා දුන්නේ ජේසුස් වහන්සේ ය. ස්වර්ගීය දෙවි පියාණන් වහන්සේ සඟ සැපත හැර දමා ජේසුස් වහන්සේ ලෙසින් ගවමඩුවක උපත ලැබීමට තරම් යටහත් පහත් වීමට සූදානම් වූ සේක. කිසිදු පාපයකින් තොර වූ උන්වහන්සේ විවිධ දුක් ගැහැට, නින්දා අපහාස විඳිමින් මිනිසාගේ ගැලවීම උදෙසා දේව කැමැත්තට යටත් ව කුරුසි පත් වූ සේක. තම ජීවිත කාලය පුරා ම උන්වහන්සේ තමකම නැසීම පිළිබඳ ව තම ජීවිතාදර්ශයෙන් ම අපට ආදර්ශය ලබා දුන් සේක.

උදාහරණ ලෙස ජේසුස් වහන්සේ මුහුණ දුන් පරීක්ෂාවල දී උන්වහන්සේ ලෞකික අවශ්‍යතා නොසලකා හරිමින් ආත්මික අවශ්‍යතා කෙරෙහි ප්‍රමුඛතාව ලබා දුන් සේක. ජේසුස් වහන්සේ ස්වර්ගයෙන් පොළොවට වැඩියේ මුළු මහත් මනුෂ්‍ය වර්ගයාගේ විමුක්තිය උදෙසා ය.

තමකම නැසීමේ මූලික අදහස වන්නේ තමන් තුළ ඇති මමත්වය බැහැර කිරීම ය. එනම් දේව සබඳතාවලට අවහිර වන ආකාරයේ ශාරීරික හා මානසික අවශ්‍යතා අත් හැරීමට සූදානම් වීම ය. ජේසුස් වහන්සේ එය තම ජීවිතාදර්ශයෙන් පෙන්වූ සේක. ක්‍රිස්තුස් වහන්සේගේ අනුගාමිකයන් වන අප මමත්වය බැහැර නොකළහොත් ජේසුස් වහන්සේගේ අනුගාමිකයකු ලෙස රැඳී සිටීමට අපහසු වේ. තමකම බැහැර කළ යුත්තේ අපගේ විමුක්තිය උදෙසා පමණක් නොව අන් අයගේ විමුක්තිය උදෙසා ද වේ.

## 2. කුරුසිය දරාගැනීම හා උන්වහන්සේ පසුපස යෑම



18.1 රූපය - කුරුසිය දැරීම

කුරුසි පත් කිරීම එදා ජුදා සමාජයේ බරපතළ වරදකරුවකුට හිමි වූ නින්දිත දඬුවම් ක්‍රමයක් විය. ජේසුස් වහන්සේ එයට මුහුණ දුන් සේක. උන්වහන්සේ එදා කුරුසිය ඉසිලුවේ පාපී මනුෂ්‍යා පාපයෙන් ගලවා ගැනීමේ ක්‍රියාවලිය වෙනුවෙනි. උන්වහන්සේ සමාජය විසින් ප්‍රතික්ෂේප කළ පව්කරුවන්ට නිසිමග පෙන්වමින්, ජනතාව එදා පීඩනයට පත් කළ පූජකයන්, ප්‍රභුවරුන් හා පාලකයින් සමග ගැටෙමින් සමාජ අසාධාරණවලට එරෙහි ව මැදිහත් වූ සේක. එසේ ම පාපයෙන් ගැලවීම සඳහා මනස්ථාපනය වෙමින් දේව රාජ්‍යය තුළට ජනතාව කැඳවූ සේක. අවසානයේ සිය කැමැත්තෙන් ම කුරුසිය මත දිවි පිදූ සේක.

ජේසුස් වහන්සේ කුරුසිය මත කළ ජීවිත පූජාව තුළින් දේව දරුකම හා පාප කමාව අප ලබා තිබෙන අතර එය ආරක්ෂා කර ගනිමින් ජීවත් වීම අපගේ වගකීම වේ.

අප කුරුසය දරාගෙන උන්වහන්සේ අනුගාමී වීම යනු උන්වහන්සේ ජීවිතාදර්ශයෙන් අනුගමනය කිරීම හා උන්වහන්සේගේ ඉගැන්වීම්වලට අනුකූල ව අපගේ ජීවිත හැඩගස්වා ගැනීමයි. එය පහසු ක්‍රියාවක් නොවනුයේ එවිට අපහට ද විවිධ පීඩා දරා ගැනීමට සිදුවන හෙයිනි. එම නිසා ම අප "කුරුසිය දරා ගනිමින් උන්වහන්සේ අනුගමනය කිරීම" යන්න වටහා ගත යුත්තේ උන්වහන්සේගේ දරුවෙකු වීම හේතු කොටගෙන ජීවිතයට පැමිණෙන සියලු අභියෝග මැද දී පවා උන්වහන්සේ අත් නොහැර උන්වහන්සේ අනුගාමී වීමයි.

**විමසා බලමු**
**මතෙව් 16 : 25**

පොළොවේ දූවිල්ලෙන් දෙවියන් වහන්සේ විසින් නිර්මාණය කරන ලද අපගේ ලෞකික ජීවිතයට දෙවියන් වහන්සේගේ ජීවන හුස්ම ලබා දීමෙන් ජීවමාන භාවය ලබා දුන් සේක.

අප විසින් බොහෝ විට පෝෂණය කරනු ලබන්නේ තම ලෞකික ශරීරයයි. පිනවීමට උත්සාහ කරන්නේ තම ලෞකික ජීවිතයයි. මෙම භෞතික ශරීරය තුළ පවතින ආත්මික ජීවිතය පෝෂණය කිරීම බොහෝ විට අප විසින් නොසලකා හැර ඇත. ආත්මික ජීවිතය පෝෂණය කිරීමට නම් ජීවිතයේ සෑම දෙයක දී ම ප්‍රමුඛත්වය දේව කැමැත්තට සලසා දීම වැදගත් වේ.

ජේසුස් වහන්සේ උදෙසා සිය දිවිය කැප කරන තැනැත්තා විසින් රැකගනු ලබන්නේ දෙවියන් වහන්සේගේ ජීවන හුස්මෙන් අප ලද ආත්මීය ජීවිතයයි. අපගේ මරණයේ දී අප ආත්මයට දෙවියන් වහන්සේ සමග එක් වීමට අවකාශය සැලසේ.

ජේසුස් වහන්සේගේ කුරුසිය දරාගෙන යාම හෙවත් උන්වහන්සේගේ කැමැත්ත ඉටු වන පරිදි අපගේ ජීවිතය කැප කරන විට අප ශාරීරික වදහිංසනයන්ට හා මරණයට වුව ද පත්වීමට ඉඩ ඇත. නමුත් ඒ තුළින් අපගේ ආත්මික ජීවිතය රැකෙනුයේ එය දෙව් පියාණන් ඉදිරියේ පිළිගැනීමට ලක්වන හෙයිනි.

**විමසා බලමු**
**මතෙව් 16 : 26 - 27**

ජේසුස් වහන්සේ අනුගමනය කිරීමෙන් අපහට දේව දරුකමේ පිරිපුන් ජීවිතයකට ඇතුළත් වීමට හැකි වේ. මුළු ලෝකය ම අපට අයිති වුවත් ක්‍රිස්තුස් වහන්සේ තුළ අප ජීවත් නොවේ නම් අපගේ ජීවිතයේ අර්ථයක් නොමැත.

ජේසුස් වහන්සේ ආත්මික ජීවිතයේ වටිනාකම හා ලෞකික ජීවිතයේ දී දේව දරුවෙකු ලෙස ජීවත් වීමේ පිළිවෙළ අපට පෙන්වා දුන් සේක. අපගේ සදාතන ජීවිතය අපට අහිමිවනවා යනු ආත්මික ජීවිතය නැති වීම වේ. මන්ද අපගේ ආත්මික ජීවිතය මරණින් එහා දක්වා ද පවතින්නක් වන හෙයිනි.

ලෞකික දේවලට අනවශ්‍ය ලෙස ප්‍රමුඛතාව හිමිකර දීම නිසා අපගේ ඇතුළාන්ත දේව සබඳතාව දුර්වල වේ. මේ ලෞකික ජීවිතයේ අප ලබා ගන්නා දේ බොහෝ විට තාවකාලික

වේ. නමුත් ක්‍රිස්තුස් වහන්සේ තුළ අප ගොඩනගා ගන්නා ආත්මික ජීවිතය සදාකාලික ව පවතින්නකි. මේ නිසා අප වෙත පැමිණෙන මේ ලෝකයේ පරීක්ෂාවන්ගෙන් ජයගෙන ජීවත් වීම අපගේ වගකීමකි.

ජේසුස් වහන්සේ රාජතේජසින් දෙවන වරට මෙලොවට වඩින බව ප්‍රකාශ කළ සේක. අප සැම කෙනෙකු ම අවසාන විනිශ්චයේ දී වෙන වෙනම විනිශ්චය කරනු ලබන බව ශුද්ධ බයිබලය අපට පෙන්වා දී ඇත. එම අවස්ථාවේ අප විනිශ්චය කරනු ලබන්නේ මේ ලෝකයේ දී අප දිනාගත් දේ මත නොව ජේසුස් වහන්සේගේ අනුගාමිකයෙකු ලෙස අප ක්‍රියා කළ ආකාරය අනුව ය.

එමෙන් ම අප අපගේ ජීවිත පමණක් නොව අන් අයගේ ජීවිත ද ගොඩනැගීමට ක්‍රියා කිරීම ඉතා ම වැදගත් වේ.

තමකම නසමින් ජේසුස් වහන්සේ අනුගාමී වන්නා වූ අපගේ ජීවිත තුළ පවත්වා ගත යුතු ගුණාංග කීපයක් මෙලෙස පෙළගැස්විය හැකි වේ.

- ★ තම කැමැත්ත හා අවශ්‍යතාවට වඩා අන් අයගේ කැමැත්ත හා අවශ්‍යතාවලට ඉඩ සැලසීම
- ★ ක්‍රිස්තුස් වහන්සේට අයත් දරුවන් ලෙස කටයුතු කිරීමේ දී අප වෙත පැමිණෙන දුක් පීඩා ප්‍රීතියෙන් බාර ගැනීම
- ★ අන් අයගේ ජීවිත ගොඩනගමින් යහපත වෙනුවෙන් තමා හිස් වීම
- ★ අප කරන්නා වූ සැම ක්‍රියාවක් ම උපරිම කැප වීමෙන් ඉටු කිරීම
- ★ සියලු ම ජීවිත අභියෝග මැද දී, නොසැලී ජේසුස් වහන්සේ අනුගමනය කිරීම

ජේසුස් වහන්සේ තමකම නසා අපගේ ජීවිත විමුක්තිය උදෙසා කුරුසියේ මාර්ගය තෝරා ගත් සේක. එබැවින් අපි ද අපගේ ජීවිතවල ආත්මාර්ථකාමී ආකල්ප ඉවතලා පරාර්ථකාමී ලෙස අන් අයගේ ජීවිත ගොඩනැගීමට කැප වෙමු.

**ක්‍රියාකාරකම**

1. අන් අයගේ ආධ්‍යාත්මික ජීවිත ශක්තිමත් කිරීමට ඔබට ගත හැකි ක්‍රියා මාර්ග මොනවා ද?
2. ක්‍රිස්තුස් වහන්සේට අයත් වූවෙකු ලෙස තමකම නසමින් අන් අය වෙනුවෙන් තම ජීවිතය කැප කළා වූ පුද්ගලයකු පිළිබඳ තොරතුරු ඇතුළත් කරමින් පොත් පිංචක් සකස් කරන්න.

# 19 ක්‍රිතු සමිඳුගේ සෙබළුන් වෙමු

**එපීස 6 : 13-20**

ක්‍රිතුනුවෙකු ලෙස දිවි ගෙවීමට සූදානම් වන අපහට ඊට එරෙහි ප්‍රබලතම අභියෝගය එල්ල වනුයේ "නපුරා" ගෙනි. අප දැනුම්වත් ව මෙන් ම නොදැනුම්වත්ව ම වුව ද විවිධාකාර ස්වරූපයෙන් හා විවිධ මාර්ග ඔස්සේ "නපුර" අප වෙත පැමිණෙයි. නපුරාගෙන් එල්ල වන අභියෝගවලට සාර්ථක ව මුහුණ දීමේ ක්‍රමවේදය පාවුල් තුමා විසින් අප වෙත හඳුන්වා දෙනු ලබයි. ඒ එතුමා විසින් එපීස වැසියන් වෙත යවන ලද හසුන ඇසුරිනි.

ජුදෙව් නොවන ජාතීන් වෙත ශුභාරංචිය රැගෙන යාම සඳහා ස්වාමීන් වහන්සේ විසින් කැඳවන ලද සුවිශේෂ චරිතයක් ලෙස පාවුලු තුමා හැඳින්විය හැකි ය. ශුභාරංචිය ප්‍රකාශ කිරීම හේතු කොටගෙන එතුමා සිරභාරයට ගනු ලැබ දැඩි මුරකාවල් මැද රඳවා තබනු ලැබිණි. එතුමා එපීස වැසියන් වෙත යවනු පිණිස හසුනක් ලියුවේ එලෙස සිරභාරයේ සිටියේ දී ය. සිරගෙදර දී ඔහුට නිරන්තරයෙන් දක්නට ලැබුණ ආයුධ සන්නද්ධ සෙබළුන්ගේ ස්වරූපය සංකේතවත් කර ගනිමින්, එපීස වැසියන්ගේ "ආධ්‍යාත්මික සටන" ජය ගැනීම උදෙසා ඊට එරෙහි වන නපුරු බලවේග පරාජය කිරීමට සූදානම් කළ ආකාරය විමසා බලමු.

> *එබැවින් නපුරු දවස පැමිණි විට ඊට විරුද්ධ ව සිටින්න පුළුවන් වන පිණිසත්, කළ හැකි සෑම දෙයක් ම කර, ස්ථිර ව සිටින්න පුළුවන් වන පිණිසත්, දෙවියන් වහන්සේගේ සන්නාහයෙන් සන්නද්ධ ව සිටින්න.*
>
> *එපීස 6:13*

පාවුල් තුමාට අනුව ක්‍රිතුනුවා මුහුණ දෙනු ලබන සටන කුමක් ද?

පාවුල් තුමා සෙබළුන්ගේ යුධ ආයුධ සංකේතාත්මක ව උපයෝගී කරගනිමින් ආධ්‍යාත්මික සටනක් සඳහා සැදැහැවතුන් සූදානම් කළේ ය. එය නපුරේ බලවේග සමග නපුරට විරුද්ධ ව කෙරෙන සටනකි.

අද සමාජය තුළ ද නපුරු බලවේග විවිධ ස්වරූපයෙන් අප වෙත පැමිණෙයි. එවැනි අවස්ථා කිහිපයක් හඳුනාගනිමු.

- සමහර මිතුරන් මගින් පැමිණෙන වැරදි පෙලඹවීම්
- නවීන සන්නිවේදන උපකරණ වැරදි ලෙස භාවිතය
- මත් ද්‍රව්‍ය, දුම්වැටි වැනි දේ කෙරෙහි පෙළඹවීම්
- ගුරු දෙගුරුන්ගේ උපදෙස් පිළිපැදීමට දක්වන මැලිකම
- පොදු සම්මතයන්ට හිස නැමීමට දක්වන මැලිකම



**විමසා බලමු**
**එපීස 6:14-17**

ඉහත බයිබල් පාඨය ඇසුරෙන් සැදැහැවතුන්ගේ යුද්ධායුධ මොනවාදැයි **අභ්‍යාස පොතේ** ලියා දක්වන්න.

## කිතුනු අපගේ සන්නාහ සන්නද්ධ ආයුධ

සත්‍යය නැමති ⟶ ඉඟපටිය

ඉඟපටිය මගින් යුද මෙවලම් ශරීරයට නිසි ලෙස රඳවා තබයි. කිතුනුවන් විසින් සිදු කෙරෙන ආධ්‍යාත්මික සටනේ දී කිසි ලෙසකින්වත් සත්‍යයෙන් ඉවතට නොයා යුතු බව මින් ප්‍රකාශ වේ. නිවැරදි සත්‍යය අපට පසක් කර දෙනු ලබන්නේ ශුද්ධ වූ දේව වචනයයි. මෙහි දී,

- වංචනික ක්‍රියා ප්‍රතික්ෂේප කිරීම හා ඒවා තුරන් කිරීමට දායක වීමත්
- ශුද්ධාත්මයාණන් හදවතට පවසන දෙයට සවන් දී සත්‍යවාදී ලෙස ක්‍රියා කිරීමත් වැදගත් වේ.

දැමිටුකම නැමති ⟶ ළය වැස්ම

යුධ සෙබළෙකුගේ වැදගත්ම ජීවිතාරක්ෂක මෙවලම වනුයේ ළය වැස්ම ය. එය ඔවුන්ගේ හදවත යම් ආයුධයකින් පසාරු කරගෙන යෑම වළක්වාලයි. අපගේ ජීවිත නපුරෙන් විනාශ වීම වළක්වා ගැනීම උදෙසා අප ජීවිත තුළ ධර්මිෂ්ඨ බව නිරන්තරයෙන් පවත්වා ගැනීම අත්‍යවශ්‍ය වේ.

* නපුරට විරුද්ධ ව සටන් කළ යුත්තේ ධර්මිෂ්ඨකම පෙරදැරි කරගෙන වේ.
* එනිසා අපගේ ජීවිත දැහැමි බවින් පුරවා ගැනීමට උත්සාහ කළ යුතු වේ.
* දැහැමි බව මගින් ස්වර්ග රාජ්‍යයට පිවිසීමේ උරුමකම හිමි වේ.
* දැහැමි මාර්ගයේ ගමන් කරන්නාට බොහෝ බාධක ඇති වුවත් අවසානයේ ඔහුට තම ජීවිතය සාර්ථක කරගත හැකි වේ.

සාම සුබ අස්න නැමැති ⟶ වහන්

ශුභාරංචිය ලොව පුරා රැගෙන යාම කිතුනු අපගේ වගකීමයි. වහන් පයලා ගැනීමෙන් අර්ථවත් වන්නේ ගමනේ යෙදීමයි. සාම සුබ අස්න ලොව පුරා ගෙන යාහැකි ආකාර කිහිපයක් විමසා බලමු.

* ජේසු තුමාගේ උපත මගින් ලෝකයට සාමය උදා වූ ආකාරය ප්‍රචලිත කිරීම
* ශුභාරංචිය ලෝකයාට දායාද කිරීම කිතුනු අපගේ වගකීම යන හැඟීමෙන් කටයුතු කිරීම
* ජීවිතාදර්ශය ශුභාරංචිය අන් අය වෙත ගෙන යෑමේ සුදුසුතම මග බව සලකා ජීවත් වීම.

ඇදහිල්ල නැමති ⟶ පලිහ

පලිහ යොදාගනු ලබන්නේ සතුරු ප්‍රහාර වළක්වා ගැනීම පිණිස ය. ක්‍රිස්තුස් වහන්සේ කෙරෙහි පවතින ඇදහිල්ල මගින් අප වෙත පැමිණෙන පරීක්ෂා ජයගත හැකි වේ. එම නිසා

* සෑම මොහොතක ම අප සතු ව විශ්වාසය නැමති පලිහ තබා ගැනීමට අවශ්‍ය වේ.
* අපගේ ජීවිතයේ අවසාන මොහොත දක්වා දේව විශ්වාසය තුළ ක්‍රියා කිරීම වැදගත් වේ.
* විවිධ බාධක, අභියෝග හමුවේ වුව ද විශ්වාසය රැක ගැනීමට නිරතුරු ව ම උත්සාහ දැරීම කළ යුතු වේ.

ගැලවීම නැමති ⟶ හිස්වැස්ම

යුධ සෙබළකු හිස් වැස්ම පලඳින්නේ බුද්ධිමත් ව, සිහි කල්පනාවෙන් යුතු ව තම වගකීම් ඉටුකරලීම පිණිස තම හිස ආරක්ෂා කර ගැනීම සඳහා වේ. කිතුනු අපහට එය මෙලෙස අදාළ කරගත හැකි වේ.

* හිස ශරීරයේ ප්‍රධාන අවයවය වන්නා සේ කිතුනු දිවියේ ප්‍රධාන අරමුණ වන්නේ පාපයෙන් ගැලවීම ය.
* හිස් වැස්මකින් හිස ආරක්ෂා කරන්නාක් මෙන් කිතුනු දිවියේ පැවැත්ම ආරක්ෂා වන්නේ පාපයෙන් ගැලවීම මත ය.

* අප අපගේ ජීවිත මෙන් ම අන් අයගේ ජීවිත ද පාපයෙන් ගලවා ගැනීමට උත්සාහ දැරීම අපගේ වගකීම වේ.

ශුද්ධාත්මයාණන් වහන්සේගෙන් වන දේව වචනය නැමැති ⟶ කඩුව

සතුරාගෙන් ආරක්ෂා වීමට හා සතුරා මැඬලීම උදෙසා කඩුව උපයෝගී කර ගන්නා සේ අපගේ කිතුනු දිවියේ පැවැත්ම උදෙසා හා නපුර මැඬලීම උදෙසා උපයෝගී කර ගත යුතු වන්නේ දේව වචනයයි.

* දේව වචනය නැමැති තියුණු බවින් යුත් කඩුවෙන් ජීවිතයේ අපිරිසිදු තැන් වෙන් කර ඉවත් කිරීමට මගපෙන්වයි.
* සතුරා පරාජය කිරීමට කඩුව භාවිත කරන්නාක් මෙන් අපගේ ජීවිතවලට පැමිණෙන නපුර පරාජය කිරීමට ද දේව වචනය යොදා ගනිමු.
* ජේසුස් වහන්සේ මෙන් පරීක්ෂා හමුවේ දේව වචනය උපයෝගී කර ගනිමින් පාපයට නොවැටී සිටීමට උත්සාහ ගනිමු.

ඉහත සඳහන් ලෙස සන්නාහයෙන් සන්නද්ධ වන කිතුනුවා ජේසුස් වහන්සේගේ සෙබළෙකු බවට පත් වේ. මෙහි දී කිතුනුවා විසින් සිදු කරනු ලබන්නේ නපුරට විරුද්ධ ව කෙරෙන සටනකි. එවැනි සෙබළෙකු සතු විය යුතු ප්‍රධාන ගුණාංගය විය යුතු වනුයේ යාච්ඤාවයි. එය එපීස 6:18-2 ඇසුරින් මෙසේ හඳුනා ගත හැකි වේ.




ජේසුස් වහන්සේ වෙනුවෙන් සිරගත ව සිටිය දී පවා පාවුල් තුමා විශ්වාස කළේ තමා නිරතුරු සැම තැනක ජේසුස් වහන්සේගේ තානාපතිවරයෙකු ලෙසට පත්කර තිබෙන බවයි. එතුමා තම සේවා සටනේ දී ක්‍රිස්තුස් වහන්සේට අයත් අභීත යුධ සෙබළකු සේ ක්‍රියා කළේ ය.

එවැනි අභීත යුධ සෙබළුන් මෙන් සැදැහැවතුන්ගේ යුද්ධායුධ පැළඳ ගනිමින්, නපුරේ බලවේගයන්ට එරෙහි ව සටන් කරමින් ක්‍රිස්තුස් වහන්සේගේ තානාපතිවරුන් සේ ක්‍රියා කිරීමට උන්වහන්සේ අපට ද ආරාධනා කරන සේක.

**ක්‍රියාකාරකම්**

1. කිතුනුවන් තම සටන දියත් කළ යුත්තේ කුමකට එරෙහි ව ද?
2. සමිඳුන්ගේ සේනාවේ යුද සෙබළකු ලෙස ඔබ කිතුනු මෙහෙවරෙහි යෙදෙන ආකාරය විස්තර කරන්න.

# 20 කිතුනු ප්‍රතිපත්ති දිවිහිමියෙන් රකිමු

රෝම 12 : 9-21

(සතිරගේ පාසලේ ක්‍රීඩා උත්සවය නැරඹීම සඳහා පවුලේ සියලු දෙනා ම පාසලට පැමිණෙති. පාසල් වත්තේ අඹ ගසක් යට වැටී තිබෙන අඹ ගෙඩියක් අහුලා ගැනීමට ඔහුගේ බාල සහෝදරයා උත්සාහ ගනියි. එහි දී මෙවන් දෙබසක් ඇති විය)

සතිර : මල්ලී ඔය අඹ ගෙඩිය අහුලන්න එපා.

මල්ලී : අනේ අයියේ ඇයි එහෙම කියන්නේ?

සතිර : මල්ලී ඒක අපේ පාසලේ සම්ප්‍රදායක්.

මල්ලී : ඒ කියන්නේ මොකක් ද අයියේ?

සතිර : අපේ පාසල් වත්ත පුරා ම තිබෙන කිසි ම පලතුරු ගසක තිබෙන ගෙඩි අප කවුරුවත් කඩන්නේවත් අහුලන්නේවත් නැහැ. ඒ පලතුරු සැම එකක් ම සතුන්ගේ ප්‍රයෝජනයට වෙන් කරලයි තියෙන්නේ. ඒක අපේ පාසලේ සම්ප්‍රදායක්.

මල්ලී : අයියේ! තවත් ඒ වාගේ සම්ප්‍රදායන් ඔයාගේ පාසලේ තියෙනවා ද?

සතිර : ඔව් මල්ලී, අපේ පාසලේ මෙවැනි සම්ප්‍රදායන් වගේ ම ප්‍රතිපත්තිත් ගොඩක් තියෙනවා. අපට යහපත් ජීවිත පැවැත්ම හුරු පුරුදු කරන්න තමයි මේ වාගේ ප්‍රතිපත්ති - සම්ප්‍රදායන් ඇති කරලා තියෙන්නේ. ශුද්ධ බයිබලයෙන් අපට පෙන්වා දී තිබෙනවා කිතුනු අපගේ ජීවිතවල පවත්වා ගත යුතු යහපත් ප්‍රතිපත්ති පිළිබඳ ව.

මල්ලී : ඒ මොනවා ද අයියේ?

සතිර : ශුද්ධ වූ පාවුලු තුමා රෝමවරුන්ට ලියූ ලිපියේ පැහැදිලි ව සඳහන් කරලා තියෙනවා අප විසින් කිතුනු ජීවිතයේ අනුගමනය කළ යුතු ප්‍රතිපත්ති ගැන.

පාසලක මෙන් ම ඕනෑ ම ආයතනයක ප්‍රතිපත්ති - සම්ප්‍රදායන් බිහි වී තිබෙන්නේ, පුද්ගලයා සමාජය තුළ නිවැරදි - යහපත් පැවැත්මකට යොමු කිරීම සඳහා වේ. එලෙස ම කිතුනු අපගේ ජීවිත ප්‍රතිපත්ති පදනම් විය යුතු වන්නේ දෙවිඳුන් අප වෙත අනුදන වදාළ කාරණා පදනම් කරගෙන වේ. එම කාරණා මාතෘකා දෙකක් යටතේ වර්ග කළ හැකි වේ. එනම්,

1. යහපත් දේව සබඳතාවක් වෙනුවෙන් පවත්වා ගත යුතු ප්‍රතිපත්ති
2. යහපත් සමාජ සබඳතාවක් වෙනුවෙන් පවත්වා ගතයුතු ප්‍රතිපත්ති ලෙස ය.

කිතුනු දිවියේ අප විසින් පවත්වාගත යුතු ප්‍රතිපත්ති පිළිබඳ ව පැහැදිලි කිරීමක් ශුද්ධ වූ පාවුලු තුමා විසින් රෝමවරුන්ට යවන ලද හසුනෙහි මෙලෙසින් සඳහන් වේ.



**විමසා බලමු**
**රෝම 12 : 9 - 21**

ඉහත බයිබල් පාඨය මගින් හඳුනාගත්, අප විසින් දෙවියන් වහන්සේ කෙරෙහිත්, අප එකිනෙකා කෙරෙහිත්, පවත්වාගත යුතු ව තිබෙන කිතුනු ප්‍රතිපත්ති පිළිබඳ ව ක්‍රියාකාරකමක් මගින් තව දුරටත් විමසා බලමු.

මෙම වගුව ඔබගේ අභ්‍යාස පොතේ පිටපත් කර ගන්න. දෙවන තීරුවේ සඳහන් ව තිබෙන බයිබල් පාඨය ඇසුරෙන් තෙවන තීරුව සම්පූර්ණ කරන්න.

| ප්‍රතිපත්ති | ශුද්ධ බයිබල් පාඨය | පැවැත්විය යුතු ගුණාංග |
|---|---|---|
| යහපත් දේව සබඳතාවක් වෙනුවෙන් අප විසින් පවත්වාගත යුතු ප්‍රතිපත්ති | රෝම 12:9<br><br>රෝම 12:11<br><br>රෝම 12:12<br><br>රෝම 12:16 | නපුර ..................................<br>..........................................<br><br>උද්යෝගිමත් ........................<br>.........................................<br><br>බලාපොරොත්තුවෙහි ..........<br>විපතේ දී ...............................<br>යාච්ඤාවෙහි ......................<br><br>ඔබ ප්‍රඥාවන්ත ....................<br>............................................ |

| | | |
|---|---|---|
| අන් අය වෙනුවෙන් පවත්වා ගත යුතු කිතුනු ප්‍රතිපත්ති | රෝම 12:10 | සුහද සහෝදර ..................... ගෞරවයෙන් ....................... |
| | රෝම 12:13 | සැදැහැවතුන්ගේ .................... ආගන්තුක .............................. |
| | රෝම 12:14 | ඔබට පීඩා කරන්නන්ට .................. ................................................... |
| | රෝම 12:15 | ප්‍රීති ................................................... ශෝක .............................................. |
| | රෝම 12:16 | හැමදෙනා ...................................... අහංකාර ...................................... |
| | රෝම12:17 | කිසිවෙකුට නපුර .............................. සියල්ලන් ......................................... |
| | රෝම 12:18 | ඔබට හැකි ...................................... |
| | රෝම 12:19 | පළිගැනීමෙන් ................................. ......................................................... |
| | රෝම 12:20 | ඔබේ සතුරාට බඩගිනි නම් ......... ............................................ පිපාස නම් ............................................. |
| | රෝම 12:21 | නපුරෙන් පරාජය ........................... ...................................... කරන්න. |

කිතුනුවන් වන අප නිරතුරු ව දෙවියන් වහන්සේ සමග සැබෑ ගැඹුරු සබඳතාවක් ඇතිකර ගැනීමට යොමුවීම වැදගත් වේ. එය සිතින් - වචනයෙන් - ක්‍රියාවෙන් හා අපගේ ආත්මයෙන්ම ගොඩනඟා ගැනීමට උත්සාහ කරමු. එදිනෙදා ජීවිතයේ අප කරන්නා වූ සැම ක්‍රියාවක් ම දේව කැමැත්තට අනුකූල ව, යහපතට ඇළුම් ව සිදුකිරීමට උත්සාහ ගනිමු. අප අපගේ නිවෙස - පාසල හා සමාජය තුළ දෙවියන් වහන්සේ උදෙසා ජීවිත ආදර්ශයෙන් සාක්ෂි දැරීම වැදගත් වේ. අප මුහුණ දෙන විවිධ අභියෝග හමුවේ දෙවියන් වහන්සේ කෙරෙහි ස්ථිර ඇදහිල්ලෙන් හා බලාපොරොත්තුවෙන් යුතු ව ක්‍රියා කිරීමට උත්සාහ කරමු. මෙවැනි ප්‍රතිපත්ති අපගේ ජීවිතවල ඇතිකර ගැනීමෙන් දෙව් පියාණන් සමග ගැඹුරු සබඳතාවක් ඇතිකර ගැනීමට අපට හැකි වේ.

අප කිසිවෙකුට සමාජයෙන් වෙන් ව හුදකලා ජීවිත ගත කළ නොහැකි ය. දෙවියන් වහන්සේ අප කැඳවන්නේ එකිනෙකා සමග සුහද, සාමූහික ජීවිතයක් උදෙසා ය. සමාජයක් වශයෙන් සාමූහික ව ජීවත් වන අප යහපත් කිතුනු ප්‍රතිපත්ති අනුව සමාජ සබඳතා ගොඩනගා ගැනීමේ දී කටයුතු කළ යුතු ආකාරය විමසා බලමු.

**සුහද සහෝදර ප්‍රේමයෙන් ක්‍රියා කිරීම**

> *සුහද සහෝදර ප්‍රේමයෙන් එකිනෙකාට ප්‍රේම කරන්න ගෞරවයෙන් තමාට වඩා අනෙක් අය උතුම් කොට සලකන්න.*
>
> *රෝම* 12:10

- ප්‍රේමය තුළ ආත්මාර්ථකාමී බවක් තිබිය නොහැකි ය.
- එය නපුර ප්‍රතික්ෂේප කරන, යහපතට ඇලුම් වන ප්‍රේමයක් වීම අවශ්‍ය ය.
- දයාව මුල් කරගෙන සහෝදරත්වයෙන් ක්‍රියා කිරීම ප්‍රේමයේ ගුණාංගයකි.
- තම සැබෑ ස්වරූපය සඟවාගත් වංචනික බව තුළ සැබෑ ප්‍රේමයක් නොපවතී.
- එකිනෙකාගෙන් ප්‍රතිලාභ, වාසි බලාපොරොත්තු නොවීම ප්‍රේමයේ ගුණාංගයකි.
- ප්‍රේමය තුළ අපට විවිධ දේ අහිමි වුවත් එය දරා ගැනීමට හැකි වීම ප්‍රේමයේ මහඟු ලක්ෂණයකි.

**උද්යෝගිමත් සිතින් කාර්යශීලී ව සේවයේ යෙදීම**

> *අලසකමින් තොර ව කාර්යශීලී වන්න; උද්යෝගිමත් හදකින් සමිඳාණන්ට සේවය කරන්න;*
>
> *රෝම* 12:11

- දේව සේවය අපට හැකි උපරිමයෙන් සිදු කරමු.
- දෙවියන් වහන්සේ වෙනුවෙන් කෙරෙන ක්‍රියාවන්ට සැම විට ම ප්‍රමුඛතාව හිමිකර දෙමු.
- එය කාර්යක්ෂම ව මෙන් ම නියමිත මොහොතේ දී ඉටු කරමු.
- දෙවියන් වහන්සේ වෙනුවෙන් ඉටුවිය යුතු කාර්යයන් මගහැරීමෙන් වැළකෙමු.

**විපතේ දී ඉවසිලිමත් වීම**

> *බලාපොරොත්තුවෙහි ප්‍රීති වන්න; විපතේ දී ඉවසිලිමත් වන්න; යාච්ඤාවෙහි නොකඩවා යෙදෙන්න;*
>
> *රෝම* 12:12

- විපත් අවස්ථාවල දී දෙවියන් වහන්සේ කෙරෙහි බලාපොරොත්තු තබා ගනිමින් ඉවසීමෙන් කටයුතු කරමු.
- ඉවසීම යනු දරා ගැනීමත් ඉක්මවා ගිය ක්‍රියාවක් බව වටහා ගනිමු.
- එවැනි අවස්ථාවල දී යාච්ඤාව මගින් දෙවි පියාණන් සමග ගැඹුරු සබැඳියාවක් කරා යොමු වෙමු.
- යාච්ඤාව විපත් අවස්ථාවලට පමණක් සීමා නොවී එය දෙවියන් වහන්සේ සමග නොකඩවා පවතින බැඳීමක් කර ගනිමු.

### පීඩා කරන්නන්ට ආසිරි පැතීම

> *ඔබට පීඩා කරන්නන්ට ආශීර්වාද කරන්න, ශාප නොකර ආශීර්වාද ම කරන්න.*
>
> *රෝම* 12:14

- පීඩා කරන්නන්ට ශාප නොකිරීමටත් ඔවුන්ට ආශීර්වාද කිරීමටත් උත්සාහ කරමු.
- සතුරාට සමාව දීම අපහසු කාර්යයක් වුවත් එම යහපුරුද්ද ගොඩනගා ගනිමු.
- සතුරන් සමග වුව ද සාමදානයෙන් ජීවත් වීමට උත්සහ දරමු.
- ඔහු/ඇය සාමදානයට එකඟ නොවේ නම් එය දෙවියන් වහන්සේට බාර කරමු.
- සතුරාට ශාප කිරීම හෝ නොකිරීම දෙවියන් වහන්සේට අයත් කාරණයක් බව පිළිගනිමු.

### ප්‍රඥාව හේතුකොටගෙන උඩගු නොවීම

> *සැම දෙනා සමග එක්සිත් ව ඉන්න, අහංකාර නොවී, යටහත් පහත් අය ආශ්‍රය කරන්න. ඔබ ප්‍රඥාවන්ත යයි සිතා උඩගු නොවන්න.*
>
> *රෝම* 12:16

- අප සැම දෙවියන් වහන්සේට අයත් දේව දරුවන් වන බැවින් සියල්ලන්ට සමාන ව සලකමු.
- සැම විට ම අන් අය තමන්ට වඩා උසස් යැයි සිතමු.
- තම දැනුම ගැන අධිතක්සේරුවෙන් වැළකී සිටිමු.
- තමන් පිළිබඳ ව අධිතක්සේරුවෙන් සිතා කටයුතු කරන්නාට තම සහෝදරයන් සමග සමානාත්මතාවකට පැමිණිය නොහැකි බව තේරුම් ගනිමු.

### යහපතට ඇලුම් ව නපුර පරාජය කිරීම

*කිසිවෙකුට නපුරට නපුර නොකරන්න. සියල්ලන් ඉදිරියෙහි උසස් යැයි සම්මත දේ කිරීමට සිතට ගන්න.*
*රෝම 12:17*

- නපුරට නපුර හෙවත් එකට එක කිරීම දෙවියන් වහන්සේගේ කැමැත්ත නොවන බව වටහා ගනිමු.
- නපුර පරාජය කළ හැකි වන්නේ යහපත් දෙයින් පමණක් බව පිළිගනිමු.
- තමා පමණක් නිවැරැදිය යන මතය සැම විට ම නිවැරැදි නොවන බව වටහාගෙන ක්‍රියා කරමු.
- යහපත් යැයි පොදුවේ සැම දෙනා ම පිළිගන්නා දේ කෙරෙහි සිත යොමු කරමු.
- අයහපත් යැයි පිළිගත් දෙයින් හැකිතාක් ඈත් වෙමු.

★ යහපත් කිතුනු ප්‍රතිපත්ති අනුව ජීවත් වීම දෙවියන් වහන්සේ අපගෙන් අපේක්ෂා කරන සේක.

★ යහපත් කිතුනු ප්‍රතිපත්ති මත ජීවත් වීම පමණක් නොව, එම ප්‍රතිපත්ති ජීවිතාදර්ශයෙන් සමාජයට දායාද කිරීම ද කිතුනු අපගේ වගකීම බව සිතන්න.

**ක්‍රියාකාරකම්**

1. රෝම 12:9-12 ට අනුව කිතුනු ප්‍රතිපත්ති ඇතුළත් පෝස්ටරයක් නිර්මාණය කරන්න.
2. කිතුනු ප්‍රතිපත්ති මත පිහිටා, ඔබට පීඩා කරන්නන් උදෙසා ඔබ ක්‍රියා කරන්නේ කෙසේ දැයි ලියන්න.
3. කිතුනු ශිෂ්‍යයෙකු/ශිෂ්‍යාවක ලෙස ඔබට පාසලෙහි දී ජීවිතාදර්ශයෙන් ක්‍රියා කළ හැකි අවස්ථා **පහක්** ලියන්න.

# 21 කිතු සමිඳුන් තුළ නව ජීවනයක්

රෝම 12 : 1-3  එපීස 4 : 22-24



**විමසා බලමු**
**රෝම 12 : 1 - 3**

කිතුනුවන්ගේ ජීවිත දෙවියන් වහන්සේගේ මහත් දයාව නිසා නවතාවකට පත්වන බව පාවුලු තුමා සඳහන් කරයි. එම නවතාව නව ජීවිතයක් ලෙස එතුමා හඳුන්වා දෙයි. එවැනි පුද්ගලයකුගේ ජීවිතය දෙවියන් වහන්සේට මුළුමනින් ම කැප කළ හැකි තත්ත්වයකට පත්වීමේ අවශ්‍යතාව ද එතුමා පෙන්වා දී ඇත. ආත්මික හා ශාරීරික වශයෙන් මුළු ජීවිතය ම දෙවියන් වහන්සේට කැප කිරීම තුළ සිදු වන්නේ සැබෑ නමස්කාරයකි.

මිනිස්සු අතීතයේ දී බැටළුවන් වැනි සතුන්ගේ රුධිරය යාගයක් ලෙස දෙවියන් වහන්සේට ඔප්පු කළෝ ය. ජේසුස් වහන්සේ ද අප සැමගේ ගැලවීම උදෙසා ජීවමාන යාගයක් ලෙස උන්වහන්සේගේ ජීවිතය කල්වාරි කන්දේ දී ඔප්පු කළ සේක. එය පූර්ණ යාගයක් (පූජාවක්) ලෙස හැඳින්විය හැකි වේ. එම නිසා අප ද දෙවියන් වහන්සේට ප්‍රසන්න යාගයක් ලෙස පිළිගත හැකි අයුරින් ක්‍රියා කිරීමත් එය දෙවියන් වහන්සේට කෙරෙන සැබෑ බුද්ධිමය නමස්කාරයක් බවත් පාවුලු තුමා පෙන්වා දී ඇත.

රෝම 12:2 පදය ඇසුරෙන් හිස්තැන් පුරවන්න.

ඔබ ................................................................................... හැඩ නොගැසී
සිත ................................................................ වෙනස් අය වන්න. එවිට
................................................................ එනම් .......................................
..................................... පිළිගත යුතු වූ .........................................................
කුමක් ද කියා ......................................................... හැකි ය.

එදිනෙදා ජීවිතයේ දී අපට දේව කැමැත්තට පටහැනි වූ විවිධ ක්‍රියා කෙරෙහි විවිධ පෙළඹවීම්වලට ලක් වීමට සිදු වේ. එම ලෝක ව්‍යවහාරයන්ට අනුව හැඩ නොගැසී අපගේ ආධ්‍යාත්මික ජීවිතය අලුත් කර ගැනීමට පාවුලු තුමා අපට මගපෙන්වයි. එසේ කිරීමෙන් දෙවියන් වහන්සේ තුළ නිවැරැදි දේ තෝරා ගැනීමට අපට හැකි වනු ඇත. මෙවන් නව ජීවිතයක් ආරම්භ කරන්නෙකු තුළ පැවතිය යුතු ගුණාංග කිහිපයක් අපි විමසා බලමු.

- **තමන් පිළිබඳ ව අධිතක්සේරුවෙන් වැළකී සිටීම**

ශු. පාවුල් තුමා අධිතක්සේරුවෙන් වැළකීම පිළිබඳ ව තම ලිපිය මගින් (රෝම 12:3) අපට මඟපෙන්වයි. විෂම වූ සමාජය තුළ එකිනෙකා අභිබවා යමින් තරගකාරී ජීවන රටාවක් කරා අප යොමු වී ඇත. එවැනි සමාජයක් තුළ මනුෂ්‍යයා තමන් පිළිබඳ ව ඉහළින් සිතන කරුණු කීපයක් පහත දැක්වේ. එනම්,

- ⋆ තම බලය
- ⋆ තම හැකියා
- ⋆ තම රූප ස්වභාවය
- ⋆ තමා සතු ධනය
- ⋆ තම බුද්ධිය
- ⋆ තමන් දරන තනතුරු

වැනි විවිධ හේතූන් නිසා මනුෂ්‍යයා තමා ගැන ඉහළින් සිතා ක්‍රියා කරයි. එපමණක් නොව එමගින් අන් අය පීඩාවට පත් කිරීමට ද යොමු වෙයි. එවැනි ක්‍රියා සිදු නොකිරීමට ස්වාමීන් වහන්සේ තුළ ජීවිතයේ නවතාවක් ලැබුවෙකුට වගකීමක් තිබේ.

- **දෙවියන් වහන්සේ ප්‍රදානය කර ඇති ඇදහිල්ලේ ප්‍රමාණය අනුව තැම්පත් සිතින් සිටීම**

ඉතා කාර්ය බහුල ලෝකයක අද අපි ජීවත් වෙමු. අපගේ සිතුම් පැතුම් ලෝක ව්‍යවහාරයට අනුව හැඩ ගැසීමට බොහෝ ඉඩකඩ ඇත. නමුත් දෙවියන් වහන්සේගෙන් දයාව ලැබ, ජීවිතය අලුත් කරගත් කෙනෙකු සිතන පතන පිළිවෙළ, ක්‍රියා කරන පිළිවෙළ ජීවත් වන පිළිවෙළ, දැනගෙන නිවුණු, තැම්පත්, කලහකාරීත්වයෙන් තොර වීම අවශ්‍ය ය. ඒ සඳහා උපකාරී වන්නේ ක්‍රිස්තුස් වහන්සේ තුළ තබා ඇති ඇදහිල්ලයි. උන්වහන්සේට අයත් ඇදහිලිවත් දරුවෙකු ලෙස දිවි ගෙවන විට එය ඔබගේ ජීවිත පැවැත්මෙන් ද ප්‍රකාශ විය යුතු වේ.



**විමසා බලමු**
**එපීස 4 : 22 - 24**

නව ජීවිතයක් අපේක්ෂාවෙන් සිටින සමනලයෙකුගේ ජීවිතයේ අවස්ථා තුනක් පහත රූපවලින් ප්‍රකාශ වේ.



දළඹුවෙකු ලෙස ජීවත් වීම

මෙය ක්‍රිස්තුස් වහන්සේ තුළ නව ජීවිතයක් ආරම්භ කිරීමට පෙර අප ගත කරන ජීවිතයට සමාන කළ හැකි වේ.



කෝෂය තුළ නව ජීවිතයකට සූදානම් වන දළඹුවා

ක්‍රිස්තුස් වහන්සේ අත් දැකීමට පෙර අපගේ පාපය අවබෝධ කර ගනිමින් හා නව ජීවිතයක් අවශ්‍ය බව තේරුම් ගනිමින් ඒ සඳහා සූදානම් වන අවස්ථාවකට සමාන වේ.



සමනලයකු ලෙස නව ජීවිතයක් අත්කර ගැනීම

පැරණි ජීවිතයේ සිදුකළ දෙවියන් වහන්සේ අකැමැති ක්‍රියා අතහැර ක්‍රිස්තුස් වහන්සේ තුළ නව ජීවිතයක් අත්කරගත් අයට සමාන වේ.

සමාජයේ පවතින විවිධ දෙයට තෘෂ්ණාවෙන් ඇලී ගැලී ඇතැම් පිරිස් ජීවත් වෙති. එවැනි තත්වයන්ගෙන් ඈත් ව ආධ්‍යාත්මික වශයෙන් නව ජීවිතයක් කරා පියනැගීමට යොමු වීම වැදගත් වේ. ආධ්‍යාත්මික ලෙස නව ජීවිතයක් කරා යොමු වීමට අවශ්‍ය ගමන් මග මෙලෙස දැක්විය හැකි වේ.




ආධ්‍යාත්මික වශයෙන් නවතාවක් කරා ගමන් කරන අපි දෙවිපියාණන්ගෙන් ලද අලුත් ජීවිත ස්වභාවය තුළ පහත සඳහන් ගුණාංගයන්ට හිමිකම් ලබමු.




**දමිටුකම** - දෙවියන් වහන්සේ අප උන්වහන්සේගේ දරුවෙකු ලෙස පිළිගැනීම තුළ අප දමිටුවන් බවට සහතිකයක් ලැබේ. දේව දරුකමේ ගුණාංග සමගින් එදිනෙදා ජීවිතය සාක්ෂි දරමින් ගමන් කරන විට නිතැතින් ම දමිටුකමේ ජීවිතයක් අපට හිමිවේ.

**ශුද්ධවන්තකම** - ශුද්ධාත්ම මඟපෙන්වීම තුළ දෙවි පියාණන්ට අවනත වෙමින්, කායික මානසික හා ආධ්‍යාත්මික වශයෙන් පවිත්‍ර වූ ජීවිත රටාවක් වෙත ගමන් කිරීමෙන් ශුද්ධවන්ත ජීවිතයක් කරා අපට පිවිසිය හැකි වේ.

ක්‍රිස්තුස් වහන්සේගේ ප්‍රේමය තුළ එදා සමාජයේ විසූ බොහෝ දෙනෙක් නව ජීවිතයක් අත් දුටුවෝ ය. උන්වහන්සේ තුළින් ආධ්‍යාත්මික නවතාවක් කරා ගමන් කරන අපි ද දේව ස්වරූපයට හිමිකම් කියමු. එලෙස හිමිකරගත් නව ජීවිතය මගින් අප ජීවත් වන සමාජය ආලෝකවත් කිරීමට උත්සාහ කිරීම ද වැදගත් වේ.

**ක්‍රියාකාරකම්**

1. ක්‍රිස්තුස් වහන්සේ තුළ නව ජීවිතයක් අත්කර ගැනීමට අවශ්‍ය ගුණාංග මොනවා ද?
2. ජේසුස් වහන්සේ හමුවීමෙන් නව ජීවිතයක් කරා යොමු වූ චරිතයක් පිළිබඳ තොරතුරු නව ගිවිසුම ඇසුරෙන් ලියන්න.
3. ඔබ ලබා ගන්නා වූ නව ජීවිතය මගින් පාසල, නිවස, සමාජය ආලෝකවත් කිරීමට ගත හැකි ක්‍රියාමාර්ග **තුන** බැගින් ලියන්න.